**47.** කම්ස නිෂ්පාදනය කරන සමාගමක් විසින් පහත පිරිවැය දරන ලදී. මෙම පිරිවැය අයිතම, විචල්‍ය (V) හෝ ස්ථාවර (F) හෝ ලෙස වර්ග කර, ඒවා නිෂ්පාදිත පිරිවැයට ඇතුළත් වන්නේ ද යන්න දක්වන්න.

| පිරිවැය | V/F | නිෂ්පාදිත පිරිවැය (ඔව්/නැත) |
|---|---|---|
| A - නිපදවන ලද කමිස ප්‍රමාණය මත සේවක වේතන | ............... | ........................... |
| B - කමිසවලට අල්ලනු ලබන බොත්තම්වල පිරිවැය | ............... | ........................... |
| C - කර්මාන්තශාලාව සඳහා රක්ෂණ වාරිකය | ............... | ........................... |
| D - නිෂ්පාදන සුපරීක්ෂකවරුන්ගේ වැටුප් | ............... | ........................... |

## පිළිතුර

47. V/F නිෂ්පාදිත පිරිවැය (ඔව්/නැත)

A - V ඔව්

B - V නැත

C - F ඔව්

D - F නැත (04)

(ඕනෑම නිවැරදි අයිතම 2 කට 1 බැගින්)

**48.** වෙළෙඳ සමාගමක් තොග නිකුත් කිරීම් මිල කිරීම සඳහා භාරිත සාමාන්‍ය ක්‍රමය යොදා ගනී. 2016 මාර්තු මාසයේ තොග අයිතමයකට අදාළ තොරතුරු පහත දී ඇත.

| දිනය | විස්තරය | ප්‍රමාණය (ඒකක) | මිල (රු.) |
|---|---|---|---|
| 2016.03.01 | ශේෂය | 1 000 | 10 |
| 2016.03.07 | ගැනුම් | 2 000 | 15 |
| 2016.03.14 | ගැනුම් | 4 000 | 11 |
| 2016.03.20 | විකුණුම් | 4 000 | ? |

පහත දෑ ගණනය කරන්න:

(අ) 2016 මාර්තු මාසයේ විකුණුම් පිරිවැය රු. .................. (ආ) 2016.03.31 දිනට තොගය රු. ..................

## පිළිතුර

48. (අ) රු.48 000 (02) (ආ) රු.36 000 (02)

**49.** සමාගමක් විසින් තනි භාණ්ඩයක් නිෂ්පාදනය කර අලෙවි කරනු ලබයි. පහත තොරතුරු එහි ඒකක 10 000 ක නිෂ්පාදන මට්ටමට අදාළ වේ.

| | |
|---|---|
| ඒකකයක විකුණුම් මිල | රු. 90 |
| ඒකකයක විචල්‍ය පිරිවැය | රු. 60 |
| ස්ථාවර පිරිවැය | රු. 180 000 |

අනෙකුත් සාධක ස්ථාවර ව තිබිය දී වෙළෙඳපොළ වෙනස්වීම් හේතුවෙන් ඒකකයක විකුණුම් මිල සහ විචල්‍ය පිරිවැය පිළිවෙළින් 30% කින් සහ 20% කින් ඉහළ යනු ඇතැයි අපේක්ෂා කෙරේ.

පහත දෑ ගණනය කරන්න:

| අවස්ථාව | සමච්ඡේද ලක්ෂ්‍යය (ඒකක) | ආරක්ෂිත ආන්තිකය (ඒකක) |
|---|---|---|
| (අ) වෙළෙඳපොළ තත්ත්වය වෙනස් වීමට පෙර | ............................. | ............................. |
| (ආ) වෙළෙඳපොළ තත්ත්වය වෙනස් වීමට පසු | ............................. | ............................. |

## පිළිතුර

| 49. | සමච්ඡේදන ලක්ෂ්‍යය (ඒකක) | ආරක්ෂිත අන්තිකය (ඒකක) |
|---|---|---|
| (අ) | 6 000 (01) | 4 000 (01) |
| (ආ) | 4 000 (01) | 6 000 (01) |

**50.** සමාගමක් විසින් රු. 2 400 000 කට යන්ත්‍රයක් මිල දී ගැනීමට සලකා බලමින් සිටී. එහි ඵලදායී ජීව කාලය සහ සුන්බුන් අගය පිළිවෙළින් වසර 5 ක් සහ රු. 600 000 ක් වේ. ක්ෂය වෙන්කිරීම සඳහා සරල මාර්ග ක්‍රමය භාවිත කරනු ලබයි. මෙම යන්ත්‍රයෙන් රු. 600 000 ක ශුද්ධ මුදල් ප්‍රවාහයක් සෑම වර්ෂයක දී ම අපේක්ෂා කෙරේ.

පහත දෑ ගණනය කරන්න:

(අ) පිළිගෙවුම් කාලය (වසර) .....................

(ආ) ගිණුම්කරණ ප්‍රතිලාභ අනුපාතය-සාමාන්‍ය ආයෝජනය මත පදනම්ව (%) ..........................

## පිළිතුර

50. (අ) වසර 4 (02) (ආ) 16% (02)

2.1.5 I ප්‍රශ්න පත්‍රයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා:

I පත්‍රය සඳහා පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ




මූල්‍ය ගිණුම්කරණය පිළිබඳ මූලික දැනුම, ගිණුම්කරණ සංකල්ප, පිරිවැය වර්ගීකරණය, දේපල පිරියත හා උපකරණවල ආරම්භක පිරිවැය හඳුනාගැනීම පිළිබඳ ව පිළිවෙළින් ඇතුළත් කර තිබූ ප්‍රශ්න අංක 1, 2, 23 හා 44 යන ප්‍රශ්න සඳහා අපේක්ෂකයින්ගෙන් 75%කට වඩා වැඩි ප්‍රතිශතයක් නිවැරදි ව පිළිතුරු සැපයීමට සමත් වී ඇති බව ඉහත ප්‍රස්තාරයට අනුව පෙනී යයි.

එමෙන්ම ගිණුම්කරණ ක්‍රියාවලිය, කළමනාකරණ ගිණුම්කරණයේ විෂයය පථයට ඇතුළත් වන කාර්යයන්, ගිණුම්කරණ සමීකරණය, ණයගැති පාලන ගිණුමේ ගනුදෙනු සටහන් කිරීම, මූල්‍ය ගිණුම්කරණ අනුපාත සහ පිරිවැය වර්ගීකරණය පිළිබඳ ව දැනුම සහ අවබෝධය පරීක්ෂා කිරීම සඳහා ඇතුළත් කර තිබූ ප්‍රශ්න අංක 5, 31, 33, 34, 46, 47 යන ප්‍රශ්නවලට ද අපේක්ෂකයින්ගෙන් බහුතරයක් 65%-74% අතර ප්‍රමාණයක් සාර්ථකව පිළිතුරු සපයා තිබුණි.

ගිණුම්කරණ සංකල්ප, මූල්‍ය ගිණුම්කරණයේ සංකල්පනාත්මක රාමුව, උපචිත සංකල්පයට අදාළ ගැලපීම්, සේවක අර්ථසාධක අරමුදල් ගැලපීම, VAT ගැලපීම, හවුල් ව්‍යාපාර සම්බන්ධ මූලික දැනුම, LKAS 02 (තොග), පොදු කාර්ය පිරිවැය අන්තර්ග්‍රහණය සහ බැංකු සැසඳුම් ප්‍රකාශය පිළිබඳ ව දැනුම සහ අවබෝධය පරීක්ෂා කිරීම සඳහා ඇතුළත් කර තිබූ ප්‍රශ්න අංක 4, 6, 7, 12, 13, 14, 26, 27, 36 යන ප්‍රශ්නවලට නිවැරදිව පිළිතුරු සපයා තිබුණේ අපේක්ෂකයින්ගෙන් 50%-64% දක්වා ප්‍රමාණයක් පමණි.

ප්‍රශ්න අංක 8, 9, 10, 11, 16, 18, 20, 21, 22, 24, 25, 28, 29, 30, 32, 35, 37, 40, 45, 48, 49 යන ප්‍රශ්න සඳහා නිවැරදි ව පිළිතුරු සපයා තිබුනේ අපේක්ෂකයින්ගෙන් සාපේක්ෂව සුළු පිරිසකි. එම ප්‍රතිශතය 30%-49% අතර වේ. එම ප්‍රශ්නවලින් පරීක්ෂා කිරීමට උත්සාහ කර ඇත්තේ, වැරදි නිවැරදි කිරීම, ලාභ අරමුණු කර නොගත් සංවිධානවල ගිණුම්, LKAS 7 (මුදල් ප්‍රවාහ ප්‍රකාශනය) LKAS 01 අනුව මූල්‍ය ප්‍රකාශන ඉදිරිපත් කිරීම, මූල්‍ය ගිණුම්කරණ අනුපාත, ද්‍රව්‍ය පිරිවැය, පිරිවැය-පරිමා-ලාභ විශ්ලේෂණය, ප්‍රාග්ධන ආයෝජන තීරණ, ශුද්ධ වත්කම් පදනම මත ලාභය සෙවීම, මුදල් වට්ටම් හා වෙළෙඳ වට්ටම් පිළිබඳ අවබෝධය, ගිණුම්කරණ සංකල්ප යොදා ගැනීම සහ හවුල් ව්‍යාපාර ගිණුම්කරණය ආදිය පිළිබඳ දැනුම සහ අවබෝධයයි.

ප්‍රශ්න අංක 15, 17, 19, 41, 42, 43, 50 යන ප්‍රශ්න සඳහා නිවැරදි පිළිතුරු සපයා ඇත්තේ අපේක්ෂකයින්ගෙන් ඉතා සුළු පිරිසක් වන අතර එය ප්‍රතිශතයක් ලෙස 30%කට වඩා අඩු ප්‍රමාණයකි. මෙම ප්‍රශ්නවලින් පරීක්ෂා කිරීමට උත්සාහ කර ඇත්තේ දේපල පිරියත හා උපකරණ මිලට ගැනීම, ඉවත් කිරීම හා ක්ෂය සම්බන්ධ ගැටළු, LKAS 10 (වාර්තා කරන කාලච්ඡේදයට පසු සිදුවීම්) LKAS 01ට අනුව කාලච්ඡේදයේ ලාභය හා වෙනත් විස්තීරණ ආදායම හඳුනා ගැනීම, LKAS 8 (ගිණුම්කරණ ප්‍රතිපත්ති, ගිණුම්කරණ ඇස්තමේන්තු වෙනස්වීම් සහ වැරදි) LKAS 37 (ප්‍රතිපාදන අසම්භාව්‍ය වගකීම් සහ අසම්භාව්‍ය වත්කම්, LKAS 17 (කල්බදු) සහ ප්‍රාග්ධන ආයෝජන තීරණ පිළිබඳ දැනුම සහ අවබෝධය වේ.

ඒ අනුව 1 වන ප්‍රශ්න පත්‍රයට පිළිතුරු සැපයීමේදී සමස්තයක් ලෙස ගිණුම්කරණ ප්‍රමිත සම්බන්ධ අවබෝධය දුර්වල මට්ටමක් පැවැති අතර, ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේදී ඒ සඳහා වැඩි අවධානයක් යොමු කළ යුතුවේ.

ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේදී ඉහත ප්‍රතිශත සැලකිල්ලට ගෙන නිවැරදි පිළිතුරු සැපයීමට දුර්වලතා දක්වන ලද මාතෘකා පිළිබඳ වැඩි අවධානයක් යොමු කරමින් ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සංවර්ධනය කර ගැනීම යෝග්‍ය බවත්, ප්‍රායෝගික මට්ටමේ නිපුණතා පාදක කරගෙන අදාළ ගැටළු හා පිළිතුරු සාකච්ඡා කිරීම වඩාත් ප්‍රයෝජනවත් විය හැකි බවත් කිව හැකිය.

### 2.1.6 I වන ප්‍රශ්න පත්‍රයේ අංක 1 සිට 30 දක්වා ප්‍රශ්න සඳහා වරණ තෝරා ඇති ආකාරය - ප්‍රතිශත ලෙස

| ප්‍රශ්න අංකය | නිවැරදි වරණය | එක් එක් වරණය තෝරා ඇති ප්‍රතිශතය | | | | | |
|---|---|---|---|---|---|---|---|
| | | 1 | 2 | 3 | 4 | 5 | කිසිදු පිළිතුරක් සපයා නොමැත |
| 1 | 5 | 1.03 | 1.03 | 2.17 | 1.17 | **95.00** | 0.13 |
| 2 | 2 | 5.13 | **78.13** | 2.97 | 12.00 | 2.00 | 0.34 |
| 3 | 5 | 4.80 | 4.80 | 8.00 | 19.03 | 62.77 | 0.60 |
| 4 | 2 | 6.80 | **49.93** | 13.53 | 20.80 | 8.03 | 0.91 |
| 5 | 1 සහ 5 | **25.27** | 3.87 | 10.30 | 14.07 | 46.17 | 0.32 |
| 6 | 1 | **53.20** | 14.00 | 19.50 | 9.40 | 2.83 | 1.07 |
| 7 | 3 | 16.77 | 9.40 | **55.80** | 13.47 | 3.00 | 1.56 |
| 8 | 1 | **44.30** | 8.43 | 12.37 | 7.40 | 26.63 | 0.87 |
| 9 | 2 | 7.53 | **44.50** | 29.53 | 6.53 | 10.77 | 1.14 |
| 10 | 3 | 7.60 | 17.83 | **47.23** | 15.93 | 9.80 | 1.61 |
| 11 | 3 | 14.73 | 15.27 | **35.40** | 24.20 | 8.07 | 2.33 |
| 12 | 2 | 2.43 | **54.57** | 14.57 | 22.47 | 4.97 | 0.99 |
| 13 | 1 | **50.50** | 4.77 | 13.87 | 26.57 | 3.60 | 0.69 |
| 14 | 5 | 6.77 | 18.67 | 12.43 | 4.43 | **57.10** | 0.60 |
| 15 | 5 | 17.67 | 9.47 | 24.37 | 20.30 | **26.47** | 1.72 |
| 16 | 2 | 12.83 | **43.73** | 11.77 | 16.77 | 13.37 | 1.53 |
| 17 | 5 | 16.77 | 18.40 | 22.63 | 12.37 | **28.57** | 1.26 |
| 18 | 4 | 23.93 | 7.07 | 11.47 | **40.20** | 16.40 | 0.93 |
| 19 | 4 | 7.53 | 9.03 | 24.57 | **25.97** | 31.73 | 1.17 |
| 20 | 3 | 10.57 | 11.70 | **35.37** | 18.30 | 22.87 | 1.19 |
| 21 | 3 | 17.50 | 29.03 | **33.03** | 10.57 | 9.00 | 0.87 |
| 22 | 2 | 27.13 | **39.50** | 11.27 | 15.27 | 5.43 | 1.40 |
| 23 | 4 | 2.27 | 10.90 | 2.60 | **79.97** | 3.63 | 0.63 |
| 24 | 5 | 9.70 | 12.10 | 8.83 | 19.60 | **48.37** | 1.40 |
| 25 | 1 | **48.17** | 13.43 | 13.87 | 12.47 | 10.23 | 1.83 |
| 26 | 2 | 20.17 | **52.37** | 6.10 | 10.03 | 10.27 | 1.06 |
| 27 | 5 | 5.90 | 13.50 | 14.20 | 10.53 | **54.27** | 1.60 |
| 28 | 5 | 19.57 | 13.47 | 21.87 | 11.03 | **32.60** | 1.46 |
| 29 | 2 | 9.33 | **44.00** | 20.63 | 11.37 | 11.50 | 3.17 |
| 30 | 4 | 13.60 | 14.30 | 14.30 | **31.73** | 23.30 | 2.77 |

වගුව 01

ප්‍රශ්න අංක 1 සිට 30 තෙක් ප්‍රශ්නවලට පිළිතුරු ලෙස එක් එක් වරණය තෝරන ලද අයදුම්කරුවන්ගේ ප්‍රතිශත ඉහත වගු අංක 01හි දැක්වේ. එක් එක් ප්‍රශ්නය සඳහා නිවැරදි වරණය තෝරන ලද අයදුම්කරුවන්ගේ ප්‍රතිශතය අඳුරු කර දක්වා ඇත. ඒ අතුරින් විශේෂතා හඳුනාගත් ප්‍රශ්න කිහිපයක් පිළිබඳ ව විග්‍රහයක් පහත දැක්වේ.

අපේක්ෂකයින් ප්‍රශ්න අංක 1, 2 හා 23 සඳහා සාර්ථකව පිළිතුරු සපයා ඇති බව නිරීක්ෂණය විය.

ගිණුම්කරණයේ අරමුණු පිළිබඳ දැනුම පිරික්සන ප්‍රශ්නයක් වන ප්‍රශ්න අංක 1 සඳහා නිවැරදි පිළිතුරු වන 4 වන වරණය සිය පිළිතුර ලෙස දක්වා ඇති අපේක්ෂකයින්ගේ ප්‍රතිශතය 95%කි. පිරිවැය වර්ගීකරණය පිළිබඳ දැනුම පිරික්සන ප්‍රශ්නයක් වන ප්‍රශ්න අංක 23 සඳහා 80%ක් වූ අපේක්ෂකයින් නිවැරදි පිළිතුර වන 4 වන වරණය සිය පිළිතුරු ලෙස තෝරා ගෙන තිබුණි.

ප්‍රශ්න අංක 2 සඳහා නිවැරදි පිළිතුර වන 2 වන වරණය සිය පිළිතුර ලෙස දක්වා ඇති අපේක්ෂකයින්ගේ ප්‍රතිශතය 78%කි. එය අඛණ්ඩ පැවැත්මේ සංකල්පයට අනුව වත්කම් වර්ගීකරණය කිරීම පිළිබඳ අවබෝධය පිරික්සන ප්‍රශ්නයක් විය.

ප්‍රශ්න අංක 5 සඳහා නිවැරදි පිළිතුරු වන 1 හා 5 වන වරණ සඳහා සිය පිළිතුරු ලෙස දක්වා ඇති අපේක්ෂකයින්ගේ ප්‍රතිශතය 71%කි.

ප්‍රශ්න අංක 15, 19, 17, 30, 21, 28, 11, 20 සහ 22 යන ප්‍රශ්න සඳහා නිවැරදි පිළිතුරු සපයා තිබුණේ අපේක්ෂකයින්ගෙන් 40%කට අඩු ප්‍රමාණයකි.

ඒ අතුරින් ප්‍රශ්න අංක 15 සඳහා නිවැරදි පිළිතුර වූ 5 වන වරණය තෝරාගෙන තිබූ ප්‍රතිශතය 26% කි. නිවැරදි ගැටළුව අවබෝධ කර නොගැනීම නිසා අපේක්ෂකයින්ගෙන් 24%ක් 3 වන වරණය ද, 20% ක් 4 වන වරණය ද 18%ක් 1 වන වරණය ද තෝරාගෙන ඇත. එහිදී තුන්වන වරණය තෝරාගත් අයදුම්කරුවන් විකුණූ මෝටර් රථයේ, විකුණූ වර්ෂයට අදාළ ක්ෂය වටිනාකම සැළකිල්ලට ගෙන නැති අතර ධාරණ අගය විකුණුම් මිල ලෙස ගෙන ඇත. සමස්තයක් ලෙස මෙම ප්‍රශ්නයට නිවැරදි පිළිතුරු සැපයීම දුර්වල වී ඇත්තේ ධාරණ වටිනාකමට දී ඇති මෝටර් රථ වටිනාකම පිරිවැයට හරවා ගැනීමට අපේක්ෂකයින් අපොහොසත් වීම නිසාය. එබැවින් ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේදී ක්ෂය වෙන් කිරීම හා වත්කම් ඉවත් කිරීම සම්බන්ධ ගැලපීම් සහිත අභ්‍යාසවල සිසුන් යෙදවීම වැදගත් වනු ඇත.

ප්‍රශ්න අංක 19 සඳහා නිවැරදි පිළිතුර වූ 4 වන වරණය තෝරාගෙන ඇත්තේ අපේක්ෂකයින්ගෙන් 26% ක් පමණි. ඔවුන්ගෙන් 32%ක්ම සිය පිළිතුර ලෙස තෝරාගෙන ඇත්තේ 5 වන වරණයයි. තවත් 25%ක් සිය පිළිතුර ලෙස 3 වන වරණය තෝරාගෙන ඇත. 5 වන වරණය තෝරා ගැනීමට හේතුව වී ඇත්තේ කාර්යාල උපකරණ ප්‍රත්‍යාගණන ඌනතාවය වියදමක් ලෙස හඳුනා ගැනීමට අපොහොසත් වීමත්, කාර්යාල උපකරණ හිගය සහ ගොඩනැගිලි ප්‍රත්‍යාගණන අතිරික්තය හිලව් කොට වෙනත් විස්තීර්ණ ආදායම් ලෙස හඳුනා ගැනීමත්ය.

ඒ අනුව වත්කම් කාන්ඩ දෙකක හිගය හා අතිරික්තය එකිනෙකට හිලව් කළ නොහැකි බව සිසුන් අවබෝධ කරගෙන නොතිබුණ බව පෙනී යයි.

අපේක්ෂකයින් සිය පිළිතුරු ලෙස 3 වන වරණය තෝරා ගැනීමට හේතු වී ඇත්තේ ප්‍රත්‍යාගණය හිගය කලින් වර්ෂයේ තිබූ අතිරික්තයට හිලව් නොකර ලාභය ගණනයේදී සම්පූර්ණයෙන්ම වියදමක් ලෙස හඳුනාගෙන තිබීමේ දෝෂයත්, ගොඩනැගිලි ප්‍රත්‍යාගණන අතිරික්තය පමණක් වෙනත් විස්තීරණ ආදායම් ලෙස හඳුනා ගැනීමේ දුර්වලතාවයත්ය. සමාගම් ගිණුම්කරණයේදී මුළු ආදායම, මුළු වියදම, ලාභය, වෙනත් විස්තීරණ ආදායම, මුළු විස්තීරණ ආදායම යන සංකල්ප පිළිබඳ ව වැඩි අවධානයක් යොමු වන පරිදි ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය කිරීම වැදගත් වනු ඇත.

17 වන ප්‍රශ්නයේ නිවැරදි වරණය ලෙස අංක 5 තෝරාගෙන ඇත්තේ අපේක්ෂකයින්ගෙන් 29%ක් පමණි. අපේක්ෂකයින් 23%ක් 3 වන වරණයද, තවත් 18%ක්, 2 වන වරණයද, 17%ක් 1 වන වරණය ද සිය පිළිතුරු ලෙස තෝරාගෙන තිබුණි. මෙම ප්‍රශ්නය නිවැරදිව අවබෝධ කර නොගැනීම හේතුවෙන් අපේක්ෂකයින් බොහෝ දෙනෙක් සිය පිළිතුර නිවැරදි නොවන වරණයන් අතර බෙදාහැර ඇත. මෙයට හේතු වශයෙන් දැක්විය හැක්කේ LKAS 10ට අනුව ගලපන හා නොගලපන සිදුවීම් හඳුනා ගැනීමට ඇති අවබෝධය දුර්වල මට්ටමක පැවතීමත්, දී ඇති දින පිළිබඳ ව ප්‍රමාණවත් සැලකිල්ලක් නොදැක්වීමත් විය හැකිය. මෙම ප්‍රමිතය පිළිබඳ පන්ති කාමරය තුළ සාකච්ඡා කිරීමේදී වාර්තා කරන කාලච්ඡේදයේ අවසාන දිනය, අධ්‍යක්ෂවරුන් විසින මූල්‍ය ප්‍රකාශන අනුමත කරන දිනය යන දින පිළිබඳ වැඩි අවබෝධයක් ලබාදීම ප්‍රයෝජනවත් වනු ඇත.

30 වන ප්‍රශ්නය සඳහා නිවැරදි පිළිතුර වූ 4 වන වරණය තෝරාගෙන ඇත්තේ අපේක්ෂකයින්ගෙන් 32% පමණි. තවත් 23%ක් සිය පිළිතුර ලෙස 5 වන වරණය තෝරාගෙන ඇති අතර, එය පිළිතුර ලෙස තෝරා ගැනීමට හේතුවී ඇත්තේ අපේක්ෂකයන් විසින් ශුද්ධ වර්තමාන අගය ගණනය කිරීමේදී යෙදවුම් ලෙස භාවිත කළයුතු අයිතම පිළිබඳ ව ප්‍රමාණවත් අවබෝධයක් නොතිබීමයි. විශේෂයෙන් අපේක්ෂිත ප්‍රතිලාභ අනුපාතය වැඩිවීම මගින් මට්ටම් සාධකය ඉහළ යාම නිසා ශුද්ධ වර්තමාන අගය පහළ යන බව පිළිබඳ අවබෝධය මද බව පෙනී යයි. ඉගෙනුම් -ඉගැන්වීම් ක්‍රියාවලියේ දී මේ පිළිබඳ අවධානය යොමු කිරීම වැදගත් වේ.

21 වන ප්‍රශ්නය සඳහා නිවැරදි පිළිතුර වන 3 වන වරණය තෝරාගෙන ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 33% පමණක් වන අතර තවත් 29%ක් සිය පිළිතුර ලෙස 2 වන වරණය තෝරාගෙන ඇත. ඊට හේතුව වූ ප්‍රවර්තන වර්ෂයේ අවසාන තොගයේ ශුද්ධ උපලබ්ධි අගය අඩුවීම ලාභය අඩු වීමට බලපාන බව තේරුම් ගෙන නොතිබීමයි. ශුද්ධ උපලබ්ධි අගය අඩුවීම දළ ලාභයට බලපෑමක් ඇති නොකළත්, ශුද්ධ ලාභයට බලපාන බව ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේදී නිදසුන් සහිත ව අවබෝධ කරවීම ප්‍රයෝජනවත් වනු ඇත.

28 වන ප්‍රශ්නය සඳහා නිවැරදි පිළිතුර වන වරණ අංක 5 තෝරාගෙන ඇති අපේක්ෂකයින්ගේ ප්‍රතිශතය ද 33%ක් පමණි. 22%ක් ම සිය පිළිතුර ලෙස 3 වන වරණය තෝරාගෙන ඇති අතර එම වරණය තෝරා ගැනීමේදී සමච්ඡේදන ලක්ෂ්‍යයේදී **"මුළු ආයකය මුළු ස්ථාවර පිරිවැයට සමාන වන බව"** අපේක්ෂකයින් විසින් තේරුම් ගෙන නොමැති බව පෙන්නුම් කෙරේ.

11 වන ප්‍රශ්නය සඳහා නිවැරදි පිළිතුර වන 3 වන වරණය අපේක්ෂකයින් 35%ක් තෝරාගෙන ඇත. 24%ක් ම සිය පිළිතුර ලෙස තෝරාගෙන ඇත්තේ 4 වන වරණයයි. එයට හේතුව ස්ථාවර තැන්පතු මත උපයන ලද පොලී ආදායම, මුදල් ලැබීමක් ලෙස සලකා තිබීමයි. ප්‍රශ්නයට අදාළ උපදෙස් හා තොරතුරු හොඳින් කියවා, පසුව පිළිතුරු සැපයීමේ වැදගත්කම සිසුන් වෙත අවධාරණය කළ යුතුවේ.

ප්‍රශ්න අංක 20 සඳහා නිවැරදි පිළිතුර වූ 3 වන වරණය අපේක්ෂකයින්ගෙන් 35%ක් තෝරාගෙන ඇත. 23%ක් 5 වන වරණය සිය පිළිතුර ලෙස තෝරාගෙන ඇත. එම වරණය තෝරා ගැනීමට හේතුව විය හැක්කේ අයදුම්කරුවන් රඳවාගත් ඉපැයුම් ගණනයේදී කාර්යාල උපකරණ ප්‍රත්‍යාගණන හිඟය වියදමක් ලෙස නොසලකා ලාභය ගණනය කිරීමත්, එයින් ලාභාංශ අඩුකර රඳවාගත් ඉපැයුම් ගණනය කිරීමත්ය. මේ අනුව සමාගම් ගිණුම්කරණයේදී ප්‍රත්‍යාගණන ගැලපීම පිළිබඳ වැඩි අවබෝධයක් ලබාදීම වැදගත් වන බව අවධාරණය කළ හැක.

ප්‍රශ්න අංක 22 සඳහා නිවැරදි පිළිතුර වූ වරණ අංක 2 තෝරාගෙන තිබුණේ අපේක්ෂකයින්ගෙන් 40% කි. අපේක්ෂකයින්ගෙන් තවත් බහුතරයක් වූ 27%ක් සිය පිළිතුර ලෙස අංක 1 තෝරා තිබුණි. වරණ අංක 1 තේරීමට හේතු විය හැක්කේ බදු සහ පොලී එකතු නොකර කාලච්ඡේදයේ ලාභය පොලියෙන් බෙදා තිබීමයි. අනුපාත පිළිබඳ දැනුම සහ අවබෝධය ලබාදීම සඳහා එහි අන්තර්ගතය පිළිබඳ ව සෙවීමට සිසුන් යොමු වන පරිදි ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය වීම වැදගත් බව කිව හැකිය.

2.1.7 I ප්‍රශ්න පත්‍රයේ අංක 31 සිට 50 තෙක් ප්‍රශ්න සඳහා ලකුණු ලබාගෙන ඇති ආකාරය

| ප්‍රශ්න අංකය | ලකුණු ලබාගත් ප්‍රතිශතය | | | | | |
|---|---|---|---|---|---|---|
| | ලකුණු 0 | ලකුණු 1 | ලකුණු 2 | ලකුණු 3 | ලකුණු 4 | කිසිදු පිළිතුරක් සපයා නොමැත |
| 31 | 0.47 | 8.1 | 17.6 | 39.63 | 33.6 | 0.6 |
| 32 | 40.87 | - | 33.1 | - | 16.5 | 9.53 |
| 33 | 9.17 | 21.27 | 6.27 | 9.27 | 50.5 | 3.53 |
| 34 | 3.6 | 7.67 | 17.9 | 39.2 | 31.17 | 0.47 |
| 35 | 44.63 | - | 25.2 | - | 24.7 | 5.47 |
| 36 | 32.67 | - | 10.73 | - | 49.27 | 7.33 |
| 37 | 18.2 | 28.2 | 22.33 | 15.3 | 12.57 | 3.4 |
| 38 | 31.83 | 6.27 | 9.37 | 16.27 | 28.97 | 7.3 |
| 39 | 43.27 | - | - | - | 45.43 | 11.3 |
| 40 | 38.93 | 1.3 | 23.03 | 3.23 | 20.53 | 12.97 |
| 41 | 43.43 | 4.83 | 14.57 | 10.9 | 12.03 | 14.23 |
| 42 | 41.37 | 9.53 | 15.97 | 0.6 | 13.07 | 19.47 |
| 43 | 48.87 | - | 20.5 | - | 11.17 | 19.47 |
| 44 | 3.97 | 3.57 | 16.83 | 21.67 | 50.93 | 3.03 |
| 45 | 28.33 | 3.6 | 11.5 | 17.03 | 22.97 | 16.57 |
| 46 | 5.93 | 6.37 | 26.9 | 19.43 | 39.7 | 1.67 |
| 47 | 2.1 | 6.3 | 24.07 | 47.43 | 18.47 | 1.63 |
| 48 | 54.53 | - | 6.77 | - | 25.97 | 12.73 |
| 49 | 27.33 | 6.73 | 15.3 | 1.37 | 34.87 | 14.4 |
| 50 | 36.9 | - | 47 | - | 3.6 | 12.5 |

වගුව 02

ඉහත වගු අංක 02 මගින් පෙන්නුම් කෙරෙන්නේ ප්‍රශ්න අංක 31 සිට 50 තෙක් ප්‍රශ්න සඳහා ලකුණු ලබාගෙන ඇති ආකාරයයි. ඒ අනුව ප්‍රශ්න අංක 31, 34 සහ 44 යන ප්‍රශ්න සඳහා අපේක්ෂකයින්ගෙන් 70%කට වැඩි ප්‍රමාණයක් සාර්ථක ව පිළිතුරු සපයා ඇත. ඒවායින් පිරික්සා ඇත්තේ කළමනාකරණ ගිණුම්කරණය, වෙළෙඳ වට්ටම් මුදල් වට්ටම්, දේපල පිරියත උපකරණවල පිරිවැය හඳුනා ගැනීම යනාදිය පිළිබඳ මූලික දැනුමයි. ප්‍රශ්න අංක 32, 35, 39, 41, 42, 43 සහ 48 සඳහා කිසිදු ලකුණක් නොලැබූ අපේක්ෂකයින්ගේ ප්‍රතිශතය 60% ඉක්මවා ඇත.

ඒ අනුව න්‍යායාත්මක දැනුම භාවිතයට යොදා ගැනීමේ දුර්වලතාව, ගිණුම්කරණය පිළිබඳ තිබිය යුතු මූලික දැනුම නොසලකා හැරීම. ගිණුම්කරණ ප්‍රමිත පිළිබඳ ව දැනුම සහ භාවිතය ප්‍රමාණවත් නොවීම සහ ප්‍රශ්න කියවා නිසි පරිදි අවබෝධ කරගෙන නොමැති වීම ආදිය කිසිදු ලකුණක් ලබා නොගැනීමට හේතු විය හැකිය.

ප්‍රශ්න අංක 32 සඳහා සමස්ත සාධන මට්ටම 34%කි. අපේක්ෂකයින්ගෙන් 41%ක් කිසිදු ලකුණක් ලබාගැනීමට අසමත් වී ඇති අතර, එයින් 10%ක් කිසිදු පිළිතුරක් සපයා නොතිබුණි. මෙය කොටස් දෙකකින් සමන්විත, ශුද්ධ වත්කම් ඇසුරෙන් ලාභය සහ වියදම් ලබාගත යුතු ප්‍රශ්නයකි. මෙහිදී බොහෝ අපේක්ෂකයින් ලාභය සොයා ගත්ත ද ඒ ඇසුරෙන් මෙහෙයුම් වියදම් සොයා ගැනීමට අපොහොසත් වී ඇති බව නිගමනය කළ හැකිය. ඒ අනුව ලකුණු 2 පමණක් ලබාගත් ප්‍රතිශතය 33%ක් වී ඇත. මෙහිදීද කිව හැක්කේ න්‍යායාත්මක කරුණු ප්‍රායෝගිකව යෙදීම පිළිබඳ ව ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේදී වැඩි අවධානයක් යොමු කළ යුතු බවයි.

ප්‍රශ්න අංක 35 සඳහා කිසිදු ලකුණක් ලබා නොගත් ප්‍රතිශතය සඳහා පිළිතුරු සපයා ඇති මුළු ලකුණු ප්‍රමාණය වන ලකුණු 4ම ලබාගෙන ඇත්තේ අපේක්ෂකයින්ගෙන් 25%ක් පමණි. වෙළෙඳ වට්ටම ගිණුම්ගත නොකරන බව පිළිබඳ මූලික ගිණුම්කරණ සිද්ධාන්තයන් අවබෝධය මදකම මෙයට හේතු විය හැකිය. එමෙන්ම ප්‍රශ්නය නිසි පරිදි කියවා අවබෝධ කර නොගෙන අදාළ ජ'නල් සටහන ලිවීමද, එලෙස ලකුණු අඩුවීමට තවත් එක් හේතුවක් විය හැකිය.

ප්‍රශ්න අංක 39 සඳහා කිසිදු ලකුණක් ලබාගත් නොගත් ප්‍රතිශතය 43%ක් වන අතර 11%ක් කිසිදු පිළිතුරක් සපයා නැත. හවුල් ව්‍යාපාරයක කීර්තිනාමය ගැලපීම ගිණුම්ගත කිරීම පිළිබඳ ව මූලික අවබෝධය අපේක්ෂකයින්ගෙන් 50%කට අධික පිරිසකට නොමැති බව මෙයින් පෙනී යයි. කෙසේ වුවද අපේක්ෂකයින්ගෙන් 46%ක් මෙම ප්‍රශ්නය සඳහා සම්පූර්ණ ලකුණු ප්‍රමාණය ලබාගෙන ඇත.

ප්‍රශ්න අංක 41, 42 සහ 43 යන ප්‍රශ්නවලින් පරීක්ෂාවට ලක්කර ඇත්තේ ගිණුම්කරණ ප්‍රමිත පිළිබඳ දැනුම සහ භාවිතයයි. ඒවායෙහි ලකුණු 0 (බින්දුව) ලබාගත් ප්‍රතිශතයන් පිළිවෙළින් 43%, 41% සහ 49%කි. ඉහත ප්‍රශ්න සඳහා කිසිදු පිළිතුරක් සපයා නොමැති ප්‍රතිශතය පිළිවෙළින් 14%, 20% සහ 20% කි. මෙයින් පෙනී යන්නේ ගිණුම්කරණ ප්‍රමිත පිළිබඳ දැනුම සහ ඒවා යොදා ගන්නා අවස්ථා පිළිබඳ අවබෝධය මඳ බවයි. ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේදී ඉහත කරුණු පිළිබඳ ව වැඩි අවධානයක් යොමු කිරීම වැදගත් බව අවධාරණය කළ හැකිය.

ප්‍රශ්න අංක 48 සඳහා සමස්ත සාධන මට්ටම 30%ක් පමණක් වන අතර, කිසිදු ලකුණක් ලබානොගත් ප්‍රතිශතය 55%ක් වන අතර, කිසිදු පිළිතුරක් සපයා නොමැති ප්‍රතිශතය 12.5%කි. ලකුණු 4ම ලබාගෙන ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 26%ක් පමණි. එම ප්‍රශ්නය තොග නිකුත් කිරීම් මිල කිරීම මගින් අවසන් තොගය සහ විකුණුම් පිරිවැය සෙවීම සම්බන්ධ ප්‍රශ්නයකි. හරිත සාමාන්‍ය මිල ක්‍රමය පිළිබඳ අවබෝධය අඩුවීමත්, තොග මිල කිරීම සහ විකුණුම් පිරිවැය අතර සම්බන්ධතාව පිළිබඳ අවබෝධය මදවීමත් මෙයට හේතු විය හැකි බව කිව හැකිය. එබැවින් න්‍යායාත්මක දැනුම ප්‍රායෝගිකව යොදා ගැනීම ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේදී අවධානය යොමු කිරීම වැදගත් වනු ඇත.

ප්‍රශ්න අංක 40 සඳහා කිසිදු ලකුණක් ලබා නොගත් අපේක්ෂකයින්ගේ ප්‍රතිශතය 39%ක් අතර 13%ක් කිසිදු පිළිතුරක් සපයා නොමැත. මෙය හවුල් ව්‍යාපාර ලාභ විසර්ජනය සම්බන්ධ, කොටස් 2කින් යුත් ප්‍රශ්නයකි. හවුල් ව්‍යාපාරයක ලාභය යනු හවුල් වේතන, ප්‍රාග්ධන පොලී සහ අවසාන ලාභ කොටස් ලෙස බෙදා හරින ලද කොටස්වල එකතුව බව, අවබෝධය මදකම මෙයට හේතු විය හැකිය. ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේදී වැඩි අභ්‍යාස ප්‍රමාණයක් යොදා ගෙන ඉහත කරුණු අවධාරණය කිරීම වැදගත් වනු ඇත.

ප්‍රශ්න අංක 50 සඳහා අපේක්ෂකයින්ගේ සමස්ත සාධන මට්ටම 27%කි. (ප්‍රස්තාර අංක 05) කිසිදු ලකුණක් නොලැබූ අපේක්ෂකයින්ගේ ප්‍රතිශතය 37%කි. මෙම ප්‍රශ්නයෙන් පිරික්සා ඇත්තේ ආයෝජනයක පිළිගෙවුම් කාලය සහ ගිණුම්කරණ ප්‍රතිලාභ අනුපාතයයි. මෙම කොටස් දෙක සඳහා ලකුණු 2 බැගින් හිමිවන අතර එක් කොටසක් නිවැරදි වීම මත ලකුණු 2 ලබාගත් ප්‍රතිශතය 47%කි. ඒ අනුව **ගිණුම්කරණ ප්‍රතිලාභ අනුපාතය** ගණනය කිරීම පිළිබඳ දැනුම සහ භාවිතය මදවීම මෙයට හේතු වූ බව කිව හැකිය. උසස් පෙළ ගිණුම්කරණය විෂයය නිර්දේශයේ අවසන් මාතෘකාවක් වන **ප්‍රාග්ධන ආයෝජන තීරණ** පිළිබඳ ව ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේදී ප්‍රායෝගික අභ්‍යාස කෙරෙහි වැඩි අවධානයක් යොමු කිරීම වැදගත් වනු ඇත.

## 2.2 II ප්‍රශ්න පත්‍රය හා පිළිතුරු සැපයීම පිළිබඳ තොරතුරු

### 2.2.1 II ප්‍රශ්න පත්‍රයේ ව්‍යූහය

කාලය පැය 03 යි

මෙම ප්‍රශ්න පත්‍රය ප්‍රශ්න 7කින් යුක්තය. පළමුවන හා දෙවන ප්‍රශ්න අනිවාර්ය වන අතර ඒ සඳහා එක් ප්‍රශ්නයකට ලකුණු 20 බැගින් ලකුණු 40කි. සෙසු ප්‍රශ්න 5 න් 4 ක් තෝරා ගත යුතු අතර එක් ප්‍රශ්නයකට ලකුණු 15 බැගින් ලකුණු 60කි. මුළු ලකුණු 100 කි.

අවසාන ලකුණු ගණනය කිරීම : I පත්‍රය 100
II පත්‍රය 100
අවසාන ලකුණු 200 ÷ 2 = 100

* පිළිතුරු පත් ඇගයීමේ දී සෑම ප්‍රශ්නයකම ලකුණු දෙගුණ කර ලබා දෙනු ඇත.
ඒ අනුව අවසාන ලකුණු ගණනය කිරීම :
I පත්‍රය 200
II පත්‍රය 200
අවසාන ලකුණු 400 ÷ 4 = 100

2.2.2. II ප්‍රශ්න පත්‍රය සඳහා අපේක්ෂිත පිළිතුරු, ලකුණු දීමේ පටිපාටිය, පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ, නිගමන හා යෝජනා

II පත්‍රයෙහි එක් එක් ප්‍රශ්නය සඳහා පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ, ප්‍රස්තාර 2, 3 සහ 4, ඇසුරෙන් ඉදිරිපත් කර ඇත. ප්‍රශ්නයට අදාළ ප්‍රස්තාර කොටස ඒ ඒ ප්‍රශ්නයේ නිරීක්ෂණ හා නිගමන සමග දක්වා ඇත.

**II පත්‍රය**

01 ප්‍රශ්නය

1. ලිපිද්‍රව්‍ය වෙළෙඳාමේ නියුතු සීමිත සුමේධ පොදු සමාගමේ 2016.03.31 දිනට ශේෂ පිරික්සුම පහත දී ඇත. මෙය එකතු කළ අගය මත බදු (VAT) සඳහා ලියාපදිංචි සමාගමකි.

| විස්තරය | හර (රු. '000) | බැර (රු. '000) |
|---|---|---|
| වැටුප් | 1 000 | |
| කුලී | 540 | |
| විදුලිය | 120 | |
| දුරකථන | 75 | |
| ගැනුම් | 6 000 | |
| VAT ගෙවීම් | 600 | |
| 2015.04.01 දිනට දේපළ, පිරියත සහ උපකරණ | 10 000 | |
| 2015.04.01 දිනට තොගය | 1 200 | |
| වෙළෙඳ ලැබිය යුතු දෑ | 7 000 | |
| බැංකුවේ ඇති මුදල් | 730 | |
| ප්‍රවර්තන වර්ෂය සඳහා ගෙවන ලද ආදායම් බදු | 535 | |
| විකුණුම් | | 12 000 |
| VAT එකතු කිරීම් | | 1 320 |
| ප්‍රකාශිත සාමාන්‍ය කොටස් ප්‍රාග්ධනය | | 4 000 |
| 2015.04.01 දිනට රඳවාගත් ඉපැයුම් | | 2 327 |
| ප්‍රත්‍යාගණන සංචිත - කාර්යාල උපකරණ | | 600 |
| කල්බදු ණයහිමියෝ | | 2 353 |
| පොදු සංචිත | | 1 200 |
| 2015.04.01 දිනට සමුච්චිත ක්ෂය - දේපළ, පිරියත සහ උපකරණ | | 4 000 |
| | 27 800 | 27 800 |

**අතිරේක තොරතුරු:**

2016.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා මූල්‍ය ප්‍රකාශන පිළියෙල කිරීමට පෙර පහත දෑ සඳහා ගැළපීම් කළ යුතු වේ.

(i) වෙළෙඳ නියෝජිතයන්ට විකුණුම් මත ගෙවූ 2% ක කොමිස්, වැටුප් තුළ ඇතුළත් කර ඇත.

(ii) 2016 මාර්තු මාසය සඳහා රු. 15 000 ක විදුලි බිල මෙතෙක් ගෙවා නොමැත.

(iii) 2016 මාර්තු මාසය සඳහා රු. 18 000 ක දුරකථන ගාස්තු කලින් ගෙවා ඇත. කෙසේ වුව ද මාර්තු මාසය සඳහා බිල රු. 8 000 ක් විය.

(iv) අයිතම ක්‍රමය මත සමාගම තොග අගය කරයි. 2016.03.31 දිනට පැවති තොගය, ලිපිද්‍රව්‍ය අයිතම කාණ්ඩ තුනකින් සමන්විත විය. මෙදිනට ඒවායේ පිරිවැය සහ ශුද්ධ උපලබ්ධි අගය පහත පරිදි විය.

| කාණ්ඩය | පිරිවැය (රු.'000) | ශුද්ධ උපලබ්ධි අගය (රු.'000) |
|---|---|---|
| A | 520 | 600 |
| B | 300 | 250 |
| C | 280 | 300 |

(v) 2016.03.31 දිනට රු. 750 000 ක ශේෂයක් සහිත ණයගැතියකු බුන්වත් වී ඇති බව 2016.04.30 දින ප්‍රකාශයට පත් කරන ලදී. 2016.05.15 දින සමාගමේ අධ්‍යක්ෂකවරු විසින් මූල්‍ය ප්‍රකාශන අනුමත කරන ලදී.

(vi) 2015.04.01 දිනට දේපළ, පිරියත සහ උපකරණ සහ ඒවායේ සමුච්චිත ක්ෂයවල සංයුතිය පහත පරිදි විය.

| විස්තරය | පිරිවැය/වටිනාකම (රු.'000) | සමුච්චිත ක්ෂය (රු.'000) | ධාරණ වටිනාකම (රු.'000) |
|---|---|---|---|
| මෝටර් රථ (කල්බදු පදනමට) - පිරිවැයට | 6 000 | 2 400 | 3 600 |
| කාර්යාල උපකරණ - සාධාරණ අගයට | 2 500 | 1 000 | 1 500 |
| ලී බඩු සහ සවි කිරීම් - පිරිවැයට | 1 500 | 600 | 900 |
| **එකතුව** | **10 000** | **4 000** | **6 000** |

සියලු ම වත්කම් (කල්බදු වත්කම් ද ඇතුළුව) 2013.04.01 දින අත්පත් කරගෙන ඇති අතර එදිනට ඒවායේ ඵලදායී ජීව කාලය වසර 5 ක් ලෙස ඇස්තමේන්තු කරන ලදී. ඒවා සරල මාර්ග ක්‍රමයට ක්ෂය කරනු ලබයි.

(vii) 2015.04.01 දින ලී බඩු සහ සවිකිරීම්වල ඉතිරි ඵලදායී ජීව කාලය වසර 6 ක් ලෙස සංශෝධනය කරන ලදී. තව ද 2016.03.31 දින කාර්යාල උපකරණ රු. 1 800 000 ක වෙළෙඳපොළ අගයට ප්‍රත්‍යාගණනය කරන ලදී.

(viii) මෝටර් රථ, භාණ්ඩ ප්‍රවාහනය සඳහා භාවිතයට ගන්නා අතර ඒවායේ කල්බදු කාලය වසර 5 කි. වාර්ෂික කල්බදු වාරිකය රු. 1 583 000 කි. ප්‍රවර්තන වර්ෂයේ කල්බදු වාරිකය ගෙවා ඇති අතර එය සම්පූර්ණයෙන්ම කල්බදු ණයහිමි ගිණුමට හර කර ඇත. මෙය සම්බන්ධ ව වෙනත් කිසිදු සටහනක් තබා නොමැත. කල්බදු පොලිය පහත පරිදි වේ.

| වසර | පොලිය (රු.'000) |
|---|---|
| 2013/14 | 600 |
| 2014/15 | 502 |
| 2015/16 | 394 |
| 2016/17 | 275 |
| 2017/18 | 144 |

(ix) 2016.03.31 දින සමාගම විසින් පොදු සංචිත ප්‍රාග්ධනිත කරමින් කොටසක් රු. 20 බැගින් සාමාන්‍ය කොටස් 40 000 ක් දැනට සිටින කොටස්කරුවන්ට නිකුත් කර ඇත. කෙසේ වුව ද මේ සම්බන්ධයෙන් කිසිදු සටහනක් තබා නොමැත.

(x) ප්‍රවර්තන වර්ෂය සඳහා ආදායම් බද්ද රු. 500 000 ක් ලෙස ඇස්තමේන්තු කර ඇත.

**අවශ්‍යවන්නේ:**

LKAS 1 (මූල්‍ය ප්‍රකාශන ඉදිරිපත් කිරීම) ප්‍රමිතයට අනුව ප්‍රසිද්ධ කිරීම සඳහා සීමිත සුමේධ පොදු සමාගමේ පහත මූල්‍ය ප්‍රකාශන (සටහන් ද ඇතුළුව):

(1) 2016.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා ලාභ හෝ අලාභ සහ වෙනත් විස්තීරණ ආදායම් ප්‍රකාශනය

(2) 2016.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා හිමිකම් වෙනස්වීමේ ප්‍රකාශනය

(3) 2016.03.31 දිනට මූල්‍ය තත්ත්ව ප්‍රකාශනය **(මුළු ලකුණු 20 යි)**

## පිළිතුර

### ප්‍රශ්න අංක 01

(1)

සීමිත සුමේධ පොදු සමාගම

2016.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා

ලාභ හෝ අලාභ සහ වෙනත් විස්තීරණ ආදායම් ප්‍රකාශනය

| | සටහන් | (රු'000) | |
|---|---|---|---|
| විකුණුම් | | 12 000 | (01) |
| විකුණුම් පිරිවැය | (01) | (6 100) | (03) |
| දළ ලාභය | | (5 900) | (05) |
| බෙදාහැරීමේ පිරිවැය | | (2 190) | (01) |
| පරිපාලන වියදම් | (01) | (2 150) | (01) |
| වෙනත් වියදම් | (01) | (50) | |
| මූල්‍ය පිරිවැය | | (394) | (01) |
| බදු පෙර ලාභය | 01 | 1 116 | |
| ආදායම් බදු | (01) | (500) | |
| කාලච්ඡේදයේ ලාභය | | 616 | |
| **වෙනත් විස්තීරණ ආදායම්** | | | |
| ප්‍රත්‍යාගණන අතිරික්තයේ වෙනස්වීම | | 800 | |
| මුළු විස්තීරණ ආදායම | | 1 416 | |

සටහන 01 :- බදු පෙර ලාභය ගණනය කර ඇත්තේ පහත වියදම් ද අඩු කිරීමෙන් පසුවය.

| | | රු' 000 |
|---|---|---|
| තොග කපාහැරීම | (02) | 50 |
| ක්ෂය | | 1 850 |
| කල්බදු පොලී | | 394 |

**(ඕනෑම අයිතම දෙකකට ලකුණු 2 යි)**
**(ලකුණු 20)**

**පෙර වැඩ රු' 000**

**විකුණුම් පිරිවැය**

| | | |
|---|---|---|
| 2015.04.01 තොගය | 1 200 | |
| ගැනුම් | 6 000 | 01 |
| 2016.03.31 තොගය | (1 100) | |
| | 6 100 | |

**විකුණුම් පිරිවැය**

| | | |
|---|---|---|
| විකුණුම් කොමිස් | 240 | 01 |
| බොල් ණය | 750 | 01 |
| මෝටර් රථ ක්ෂය | 1 200 | 01 |
| | 2 190 | |

**පරිපාලන වියදම්** 01

| | | |
|---|---|---|
| වැටුප් | 760 | 01 |
| විදුලි ගාස්තු | 135 | 01 |
| දුරකථන | 65 | |
| කුලී | 540 | 01 |
| ලී බඩු හා සවිකිරීම් ක්ෂය | 150 | 01 |
| කාර්යාල උපකරණ ක්ෂය | 500 | |
| | 2 150 | |

**වෙනත් වියදම්** 01

| | | |
|---|---|---|
| තොග කපා හැරීම | 50 | |

**මූල්‍ය පිරිවැය** 01

| | | |
|---|---|---|
| කල්බදු පොලී | 394 | |

(2) සීමිත සුමේධ පොදු සමාගම

2016.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා හිමිකම් වෙනස් වීමේ ප්‍රකාශනය රු' 000

| | ප්‍රකාශිත ප්‍රාග්ධනය - සාමාන්‍ය කොටස් | ප්‍රත්‍යාගණන සංචිතය | පොදු සංචිතය | රඳවාගත් ඉපැයුම් | එකතුව |
|---|---|---|---|---|---|
| 2015.04.01 දිනට ශේෂය | 4 000 | 600 | 1 200 | 2 327 | 8 127 |
| සංචිත ප්‍රාග්ධනිත කිරීම | 800 | (01) | (800) | | |
| * මුළු විස්තීරණ ආදායම | | (01) 800 | | (01) 616 | 1 416 |
| 2016.03.31 ශේෂය | 4 800 | 1 400 | 400 | 2 943 | 9 543 |

**(ලකුණු 03)**

(3)

**සීමිත සුමේධ පොදු සමාගම**
**2016.03.31 දිනට මූල්‍ය තත්ත්ව ප්‍රකාශනය** (01)

| | සටහන් | (රු'000) | (රු'000) |
|---|---|---|---|
| **ජංගම නොවන වත්කම්** | | | (01) |
| දේපළ, පිරියත හා උපකරණ | 02 | | 4 950 |
| **ජංගම වත්කම්** | | | (01) |
| තොගය | | 1 050 | (01) |
| වෙළඳ ලැබිය යුතු දෑ | | 6 250 | (01) |
| ඉදිරියට ගෙවූ දුරකථන ගාස්තු | | 10 | (01) |
| ඉදිරියට ගෙවූ ආදායම් බදු | | 35 | 8 075 |
| මුදල් හා මුදල් සමාන දෑ | | 730 | 13 025 |
| මුළු වත්කම් | | | |
| **හිමිකම්** | | | |
| **ප්‍රකාශිත ප්‍රාග්ධනය** | | | |
| සාමාන්‍ය කොටස් | | | 4 800 |
| **සංචිත** | | | |
| ප්‍රත්‍යාගණන සංචිතය | | 1 400 | |
| පොදු සංචිතය | (02) | 400 | |
| රඳවාගත් ඉපැයුම් | | 2 943 | 4 743 (01) |
| මුළු හිමිකම | | | 9 543 |
| **ජංගම නොවන වගකීම්** | | | (01) |
| කල්බදු ණයහිමියෝ | | | (01) 1 439 |
| | | | (01) |
| **ජංගම වගකීම්** | | | |
| කල්බදු ණයහිමියෝ | | 1 308 | |
| උපචිත විදුලි ගාස්තු | | 15 | |
| ගෙවිය යුතු VAT | | 720 | 2 043 |
| මුළු වගකීම් සහ හිමිකම | | | 13 025 |

සටහන 02 - දේපළ පිරියත හා උපකරණ (රු' 000)

| | මෝටර් රථ | කාර්යාල උපකරණ | ලිබඩු සහ සවි කිරීම් | එකතුව |
|---|---|---|---|---|
| පිරිවැය | | | | |
| 2015.04.01 දිනට ශේෂය | 6 000 | 2 500 | 1 500 | 10 000 |
| ප්‍රත්‍යාගණනය | | 800 | (01) | 800 |
| ප්‍රත්‍යාගණනය මත සමුච්චිත ක්ෂය මාරු කිරීම | | (1 500) | (01) | (1 500) |
| 2016.03.31 දිනට ශේෂය | 6 000 | 1 800 | 1 500 | 9 300 |
| සමුච්චිත ක්ෂය | | | | |
| 2015.04.01 දිනට ශේෂය | 2 400 | 1 000 | 600 | 4 000 |
| කාලච්ඡේදයේ ක්ෂය | (02) 1 200 | 500 | 150 | 1 850 |
| ප්‍රත්‍යාගණනය මත සමුච්චිත ක්ෂය මාරු කිරීම | | (1 500) | (01) | (1 500) |
| 2016.03.31 දිනට ශේෂය | 3 600 | - | 750 | 4 350 |
| 2016.03.31 දිනට ධාරණ වටිනාකම | 2 400 | 1 800 | 750 | 4 950 |

වර්ෂය තුළ කාර්යාල උපකරණ රු.1 800 000කට ප්‍රත්‍යාගණනය කර රු.800 000ක අතිරික්තයක් ඇති වී ඇත.

(ලකුණු 17)
(මුළු ලකුණු 40)

1 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණු ප්‍රමාණය 20 x 2 = ලකුණු 40කි.
1 ප්‍රශ්නය අනිවාර්ය ප්‍රශ්නයකි. ඉතා සුළු පිරිසක් හැර අනෙකුත් අපේක්ෂකයින් මෙම ප්‍රශ්නයට පිළිතුරු සපයා ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 40ක් හිමිවේ.
ඉන් ලකුණු 00 - 10 ප්‍රාන්තරයේ 30%ක් ද,
ලකුණු 11 - 20 ප්‍රාන්තරයේ 21%ක් ද,
ලකුණු 21 - 30 ප්‍රාන්තරයේ 27%ක් ද,
ලකුණු 31 - 40 ප්‍රාන්තරයේ 22%ක් ද,
ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 31ක් හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 22%ක් වන අතර, අපේක්ෂකයින්ගෙන් 30%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 10 හෝ ඊට වඩා අඩු ප්‍රමාණයකි. ලකුණු 20කට වඩා ලබාගත් අපේක්ෂකයින්ගේ ප්‍රතිශතය 49%කි.




මෙම ප්‍රශ්නයේ අනුකොටස් 3ක් ඇති අතර අනු කොටස් තුනේම පහසුතාව 55%ට වඩා වැඩිය. පහසුතාව අඩුම අනු කොටස (3) වී ඇති අතර, එහි පහසුතාව 57%කි. වැඩිම පහසුතාව සහිත අනුකොටස (2) වී ඇති අතර, එහි පහසුතාවය 63%කි.

(1) කොටසේ පහසුතාව 58%ක් වන අතර, එයින් පිරික්සා ඇත්තේ ලාභ හෝ අලාභ සහ වෙනත් විස්තීරණ ආදායම් ප්‍රකාශනය සකස් කිරීමේ හැකියාවයි.මෙයට පිළිතුරු සැපයීමේදී දැකිය හැකි දුර්වලතා ලෙස ගිණුම්කරණ ප්‍රමිත අංක 02 අනුව, අයිතම් ක්‍රමයට අවසාන තොග ගණනය කිරීමේ හැකියාව දුර්වල වීම, ගිණුම්කරණ ප්‍රමිත අංක 17ට අනුව, කාලච්ඡේදයට අදාළ කල්බදු පොලිය නිවැරදි ව හඳුනා නොග ැනීම, ගිණුම්කරණ ප්‍රමිත අංක 16ට අනුව වත්කම් ප්‍රත්‍යාගණනය පිළිබඳ ගිණුම් තැබීමේ අවබෝධය මද වීම ආදී කරුණු පෙන්වා දිය හැකිය. එම කරුණු අවධාරණය වන ලෙස ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය විය යුතුය.

(2) කොටස මෙම ප්‍රශ්නයේ වැඩිම පහසුතාව දක්වා ඇති කොටසයි. එහි පහසුතාවය 63%කි. මෙයින් පිරික්සා ඇත්තේ හිමිකම වෙනස්වීමේ ප්‍රකාශනය සකස් කිරීම පිළිබඳ අවබෝධයයි. මෙහිදී ආදායම් ප්‍රකාශනයේ, කාලච්ඡේදයේ ලාභය හා ප්‍රත්‍යාගණන අතිරික්තය, හිමිකම් වෙනස්වීමේ ප්‍රකාශයට මාරු කිරීම පිළිබඳ අවබෝධය දුර්වල මට්ටමක තිබූ බව කිව හැකිය. ඒ පිළිබඳ ව ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලියේදී අවධානය යොමු වීම වැදගත් වනු ඇත.

(3) කොටසේ පහසුතාවය 57%ක් වන අතර, එමගින් මූල්‍ය තත්ත්ව ප්‍රකාශනය සකස් කිරීම පිළිබඳ ව අවබෝධය පිරික්සා ඇත. ආදායම් බදු ගැලපීමේදී ඉදිරියට ගෙවූ ආදායම් බදු හඳුනාගෙන නොමැති බව පෙනේ. තවද කල්බදු ණයහිමියන් ජංගම හා ජංගම නොවන ලෙස හඳුනාගත්ත ද, එහි අගයන් නිවැරදි ව හඳුනා ගෙන නොමැතිවීම ද දුර්වලතාවයන් ලෙස දැක්විය හැකිය.

එමෙන්ම VAT, වගකීමක් ලෙස හඳුනා නොගැනීම හා එහි අගය නිවැරදි ව තක්සේරු නොකිරීම වැනි අපහසුතා දක්නට ලැබුණි.

එම කරුණු හොඳින් අවබෝධ වන පරිදි සැලකිය යුතු අභ්‍යාස ප්‍රමාණයක් යොදා ගෙන ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියවලිය සංවිධානය කිරීම වැදගත් වනු ඇත.

## 02 ප්‍රශ්නය

**2.** (අ) ලාභාලාභ සම සමව බෙදා ගන්නා රංග සහ එරංග උපදේශන සේවා සපයන ව්‍යාපාරයක හවුල්කරුවන් වූහ. 2015.04.01 දින උදාර හවුල්කරුවකු ලෙස බඳවා ගන්නා ලදී. සංශෝධනය කරන ලද හවුල් ව්‍යාපාර ගිවිසුම පහත පරිදි වේ.

- රංග, එරංග සහ උදාර පිළිවෙළින් ලාභාලාභ 2:2:1 අනුපාතයට බෙදාගනු ලබයි.
- හවුල් ව්‍යාපාරයේ පොත්වල කීර්තිනාම ගිණුමක් පවත්වා නොගන්නා අතර කීර්තිනාමයට අදාළ සියලු ගැළපීම් හවුල්කරුවන්ගේ ප්‍රාග්ධන ගිණුම් තුළින් සටහන් කරයි.
- හවුල්කරුවන් වර්ෂ අවසාන ප්‍රාග්ධන ශේෂ මත 10% ක වාර්ෂික පොලියකට හිමිකම් ලබයි.
- එරංගට සහ උදාරට රු. 40 000 බැගින් මාසික වේතනයක් හිමි වේ.
- හවුල් ව්‍යාපාරයට ලබා දෙන ණය සඳහා හවුල්කරුවන් වාර්ෂික ව 8% ක පොලියකට හිමිකම් ලබයි.

2016.03.31 දිනට හවුල් ව්‍යාපාරයේ ශේෂ පිරික්සුම පහත පරිදි විය:

| විස්තරය | හර (රු.'000) | බැර (රු.'000) |
|---|---|---|
| උපදේශන ආදායම් ........................ | | 8 600 |
| උපදේශන වියදම් ........................ | 3 500 | |
| මෙහෙයුම් වියදම් ........................ | 1 200 | |
| එරංගට ගෙවූ වේතන ........................ | 480 | |
| 2016.01.01 දින උදාර ලබා දුන් ණය ........................ | | 2 000 |
| උදාරට ගෙවූ ණය පොලී ........................ | 30 | |
| 2016.03.31 දිනට දේපළ, පිරියත සහ උපකරණ-ධාරණ වටිනාකමට ...... | 6 000 | |
| දේපළ, පිරියත සහ උපකරණ මත ක්ෂය ........................ | 1 800 | |
| වෙනත් ආදායම් ........................ | | 100 |
| බැංකුවේ ඇති මුදල් ........................ | 290 | |
| 2015.04.01 දිනට ප්‍රාග්ධන ගිණුම් :- රංග ........................ | | 1 000 |
| - එරංග ........................ | | 1 000 |
| 2015.04.01 දිනට ජංගම ගිණුම් :- රංග ........................ | | 200 |
| - එරංග ........................ | | 100 |
| උදාර රැගෙන ආ මුදල ........................ | | 300 |
| | 13 300 | 13 300 |

අතිරේක තොරතුරු:

(i) උදාර පහත දැ ප්‍රාග්ධනය ලෙස ගෙන එන ලදී:

| | රු.'000 |
|---|---|
| කාර්යාල උපකරණ | 700 |
| මුදල් | 300 |

කෙසේ වුව ද උදාර ගෙන ආ මුදල පමණක් ගිණුම් පොත්වල සටහන් කර තිබුණි.

(ii) උදාර බඳවා ගන්නා අවස්ථාවේ දී හවුල් ව්‍යාපාරයේ කීර්තිනාමය රු. 1 800 000 ක් ලෙස ඇස්තමේන්තු කරන ලදී.

(iii) දේපළ, පිරියත සහ උපකරණ පිරිවැය මත වාර්ෂික ව 10% බැගින් සරල මාර්ග ක්‍රමයට ක්ෂය කරනු ලැබේ.

(iv) 2016.01.01 දින හවුල් ව්‍යාපාරය සේවාදායකයකු වෙත මාසිකව රු. 100 000 ක ගාස්තුවකට උපදේශන සේවා සැපයීම සඳහා ගිවිසුමකට ඇතුළත් විය. මෙදින සේවාදායකයා රු. 500 000 ක් ගෙවූ අතර එය උපදේශන ආදායම් ලෙස සටහන් කර තිබුණි.

(v) 2016.03.31 දින හවුල් ව්‍යාපාරයේ බැංකු ගිණුමේ ශේෂය එදිනට බැංකු ප්‍රකාශනයේ ශේෂය සමග එකඟ නොවී ය. පසුව කරන ලද විමර්ශනයේ දී පහත දැ අනාවරණය විය.

- බැංකුවේ සෘජුව තැන්පත් කරන ලද රු. 300 000 ක උපදේශන ආදායමක් ගිණුම් පොත්වල සටහන් කර නොතිබුණි.
- උපදේශන සේවාවක් වෙනුවෙන් රංගගේ බිරිඳගෙන් ලද රු. 50 000 ක චෙක්පතක් බැංකුවේ තැන්පත් කළ නමුත් මෙතෙක් උපලබ්ධි වී නොමැත. මෙය වෙනත් ආදායම් ලෙස සටහන් කර ඇත.
- බාහිර උපදේශකයන්ට නිකුත් කළ රු. 250 000 ක චෙක්පත් ගෙවීමට ඉදිරිපත් කර නොතිබුණි.
- එරංගගේ රු. 50 000 ක නිවාස ණය වාරිකය ස්ථාවර නියෝග මත හවුල් ව්‍යාපාරයේ බැංකු ගිණුමෙන් ගෙවා ඇති මුත් ගිණුම් පොත්වල සටහන් කර නොතිබුණි.

අවශ්‍යවන්නේ:

(1) 2016.03.31 දිනට සංශෝධිත මුදල් ශේෂය සහ බැංකු සැසඳුම් ප්‍රකාශනය

(2) 2016.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා හවුල් ව්‍යාපාරයේ ආදායම් ප්‍රකාශනය (විසර්ජනයන් සහිතව)

(3) 2016.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා හවුල්කරුවන්ගේ ප්‍රාග්ධන සහ ජංගම ගිණුම්

(ලකුණු 10 යි)

## පිළිතුර

### ප්‍රශ්න අංක 02

02. (අ) (1) සංශෝධිත මුදල් ශේෂය - රු.540 000 (02)

| පෙරවැඩ | | රු |
|---|---|---|
| බැංකු ශේෂය | | 290 000 |
| උපදේශන ආදායම් | 01 | 300 000 |
| | | 590 000 |
| අඩු කළා | | |
| ස්ථාවර නියෝග මත ගෙවූ එරංගගේ ණය වාරිකය | 01 | (50 000) |
| | | 540 000 |

2016.03.31 දිනට බැංකු සැසඳුම් ප්‍රකාශනය (රු' 000)

| | | |
|---|---|---|
| බැංකු ගිණුමට අනුව ශේෂය | (01) 540 | |
| එකතු කලා - | | |
| නිකුත් කල නමුත් ගෙවීමට ඉදිරිපත් නොවූ චෙක්පත් | 250 | (01) |
| | 790 | |
| අඩු කලා - | | |
| තැන්පත් කල නමුත් උපලබ්ධි නොවූ චෙක්පත් | (50) | (01) |
| බැංකු ප්‍රකාශනයට අනුව ශේෂය | 740 | |

(ලකුණු 05)

(2) රංග, එරංග සහ උදාර හවුල් ව්‍යාපාරය

2016.03.31 ක්ෂනෙන් අවසන් ව ෂය සඳහා ආදායම් ප්‍රකාශනය

(රු'000)

| | | | |
|---|---|---|---|
| ආදායම් | | | |
| උපදේශන ආදායම් | | 8 750 | (02) |
| උපදේශන වියදම් | | (3 500) | |
| දළ ලාභය | | 5 250 | |
| වෙනත් ආදායම් | | 50 | (01) |
| | | 5 300 | |
| වියදම් | | | |
| මෙහෙයුම් වියදම් | 1 200 | | |
| ක්ෂයවීම් | 1 870 (01) | | |
| ණය පොළී | 40 (01) | (3 110) | |
| වර්ෂයේ ලාභය | | 2 190 | |
| ප්‍රාග්ධන පොළී - රංග | 118 | | |
| එරංග | 118 (01) | | |
| උදාර | 64 | (300) | |
| වේතන - එරංග | 480 (01) | | |
| උදාර | 480 | (960) | |
| ලාභ කොටස් - රංග | 372 | | |
| එරංග | (01) 372 | | |
| උදාර | 186 | (930) | |

**(ලකුණු 08)**

(2)

| පෙරවැඩ | රු' 000 | |
|---|---|---|
| උපදේශන ආදායම් | 8 600 | |
| සටහන් නොවූ ආදායම් (ඍජු තැන්පතු) | 300 | |
| ඉදිරියට ලද උපදේශන ආදායම් | (200) | 02 |
| වෙනත් ආදායම් ලෙස සටහන්වීම | 50 | |
| | 8 750 | |

**(ලකුණු 07)**

(3)

ප්‍රාග්ධන ගිණුම්

| | රංග | එරංග | උදාර | | රංග | එරංග | උදාර | |
|---|---|---|---|---|---|---|---|---|
| කීර්තිනාමය | 720 | 720 | 360 | ශේෂය ඉ/ගෙ | 1 000 | 1 000 | - | |
| | (01) | | | මුදල් | - | (01) | 300 | (01) |
| | | | | කාර්යාල උපකරණ | - | - | 700 | |
| ශේෂය ප/ගෙ | 1 180 | 1 180 | 640 | කීර්තිනාමය | 900 | 900 | - | |
| | 1 900 | 1 900 | 1 000 | | 1 900 | 1 900 | 1 000 | |

### ජංගම ගිණුම්

| | රංග | එරංග | උදාර | | රංග | එරංග | උදාර |
|---|---|---|---|---|---|---|---|
| ගැනිලි | - | 50 | (01) - | ශේෂය ඉ/ගෙ | 200 | 100 | - |
| ගෙවූ ණය පොලී | - | - | 30 | ණය පොලී | - | - | (01) 40 |
| | | | | ප්‍රාග්ධන පොලී | (02) 118 | 118 | 64 |
| ගෙවූ වේතන | - | 480 | - | වේතන | - | 480 | 480 |
| ශේෂය ප/ගෙ | 690 | 540 | 740 | ලාභ කොටස් | 372 | 372 | 186 |
| | 690 | 1 070 | 770 | | 690 | 1 070 | 770 |

**(ලකුණු 07)**

(ආ) සපත්තු නිෂ්පාදනයේ නියුතු ඩෙල්වින් සමාගමට නිෂ්පාදන දෙපාර්තමේන්තු දෙකක් සහ නඩත්තු කටයුතු සඳහා වූ සේවා දෙපාර්තමේන්තුවක් ඇත. ඒකක 5 000 ක ක්‍රියාකාරී මට්ටමේ දී ඉදිරි වර්ෂය සඳහා අයවැයගත තොරතුරු පහත පරිදි වේ.

| **විස්තරය** | **එකතුව** | **නිෂ්පාදන දෙපාර්තමේන්තුව A** | **නිෂ්පාදන දෙපාර්තමේන්තුව B** | **නඩත්තු දෙපාර්තමේන්තුව** |
|---|---|---|---|---|
| වක්‍ර වැටුප් (රු.) | 75 000 | 46 000 | 13 000 | 16 000 |
| යන්ත්‍ර ක්ෂය (රු.) | 30 000 | 20 000 | 10 000 | – |
| කුලී (රු.) | 90 000 | ? | ? | ? |
| ආරක්ෂක ගාස්තු (රු.) | 45 000 | ? | ? | ? |
| විදුලිය (රු.) | 80 000 | ? | ? | ? |
| යන්ත්‍ර පැය | 15 000 | 10 000 | 5 000 | – |
| ශ්‍රම පැය | 14 000 | 2 000 | 12 000 | – |
| භූමි ප්‍රමාණය (වර්ග මීටර) | 9 000 | 3 800 | 3 600 | 1 600 |
| ආරක්ෂක සේවකයන් සංඛ්‍යාව | 15 | 7 | 7 | 1 |
| කිලෝවොට් පැය | 1 600 | 1 000 | 500 | 100 |

**අතිරේක තොරතුරු:**

(i) නඩත්තු දෙපාර්තමේන්තුවේ මුළු පොදු කාර්ය පිරිවැය, නිෂ්පාදන දෙපාර්තමේන්තු **A** සහ **B** අතර පිළිවෙළින් 5:3 අනුපාතයට විභජනය කළ යුතු ය.

(ii) **A** නිෂ්පාදන දෙපාර්තමේන්තුව යන්ත්‍ර පැය ද, **B** නිෂ්පාදන දෙපාර්තමේන්තුව ශ්‍රම පැය ද පොදු කාර්ය පිරිවැය අන්තර්ග්‍රහණය සඳහා යොදා ගැනේ.

(iii) සපත්තු යුගලයක් නිෂ්පාදනය කිරීම සඳහා නිෂ්පාදන දෙපාර්තමේන්තු **A** සහ **B** හි පිළිවෙළින් පැය 5 ක් සහ පැය 3 ක් ගත කරයි.

(iv) එක් සපත්තු යුගලයක් නිෂ්පාදනය කිරීම සඳහා සෘජු පිරිවැය:

| | | |
|---|---|---|
| අමුද්‍රව්‍ය | යුගලයකට | රු. 30 |
| ශ්‍රමය | යුගලයකට | රු. 20 |

(v) නිෂ්පාදන නොවන පොදු කාර්ය පිරිවැය:

| | | |
|---|---|---|
| විචල්‍ය | යුගලයකට | රු. 25 |
| ස්ථාවර | | රු. 105 000 |

**අවශ්‍යවන්නේ:**

(1) විභජන පදනම නම් කරමින් පොදු කාර්ය පිරිවැය විශ්ලේෂණ පත්‍රිකාව

(2) එක් එක් නිෂ්පාදන දෙපාර්තමේන්තුව සඳහා පොදු කාර්ය පිරිවැය අන්තර්ග්‍රහණ අනුපාත

(3) සපත්තු යුගලයක නිෂ්පාදන පිරිවැය

(4) ක්‍රියාකාරී මට්ටම ඒකක 5 000 දී මුළු පිරිවැය

**(ලකුණු 10 යි)**

**(මුළු ලකුණු 20 යි)**

**(ආ) (1)** පොදු කාර්ය පිරිවැය විශ්ලේෂණ පත්‍රිකාව රු’ 000

| අයිතමය | විභජන පදනම | එකතුව | නිෂ්පාදන දෙපාර්තමේන්තු A | නිෂ්පාදන දෙපාර්තමේන්තු B | සේවා දෙපාර්තමේන්තුව නඩත්තු |
|---|---|---|---|---|---|
| වක්‍ර වැටුප් | සෘජු | 75 000 | 46 000 | 13 000 | 16 000 } (01) |
| යන්ත්‍ර ක්ෂය | සෘජු | 30 000 | 20 000 | 10 000 | - |
| කුලිය | භූමි ප්‍රමාණය (38:36:16) (01) | 90 000 | 38 000 | 36 000 | 16 000 (01) |
| ආරක්ෂක ගාස්තු | සේවක සංඛ්‍යාව (7:7:1) (01) | 45 000 | 21 000 | 21 000 | 3 000 (01) |
| විදුලිය | කිලෝවොට් පැය (10:5:1) (01) | 80 000 | 50 000 | 25 000 | 5 000 (01) |
| | | 320 000 | 175 000 | 105 000 | 40 000 |
| නඩත්තු දෙපාර්තමේන්තු පොදු කාර්ය පිරිවැය නැවත විභජනය | (5:3) | (01) - | 25 000 | (01) 15 000 | (40 000) |
| | | 320 000 | 200 000 | 120 000 | - |

**(ලකුණු 10)**

(2) පොදු කාර්ය පිරිවැය අන්තර්ග්‍රහණ අනුපාත

A: යන්ත්‍ර පැයකට = රු. 20 **(02)**

B: ශ්‍රම පැයකට = රු. 10 **(02)**

**පෙරවැඩ**

A: [01] $\frac{200\ 000}{10\ 000}$ = රු. 20 [01]

B: [01] $\frac{120\ 000}{12\ 000}$ = රු. 10 [01]

**(ලකුණු 04)**

(3) **සපත්තු යුගලයක නිෂ්පාදන පිරිවැය** රු. 180 (03)

| **පෙරවැඩ** | | රු | |
|---|---|---|---|
| සෘජු අමුද්‍රව්‍ය | | 30 | [01] |
| සෘජු ශ්‍රමය | [01] | 20 | |
| පොදු කාර්ය පිරිවැය A - 20 × 5 | [01] | 100 | |
| B - 20 × 5 | | 30 | |
| | | 180 | |

**(ලකුණු 03)**

(4) ඒකක 5000 දී මුළු පිරිවැය රු. 1 130 000 (04)

| **පෙරවැඩ** | රු | |
|---|---|---|
| නිෂ්පාදන පිරිවැය 5000 × 180 | 900 000 | [02] |
| නිෂ්පාදන නොවන - විචල්‍ය 5000 × 25 | 125 000 | [01] |
| ස්ථාවර පිරිවැය | 105 000 | [01] |
| | 1 130 000 | |

**(ලකුණු 04)**

**(මුළු ලකුණු 40)**

2 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණු ප්‍රමාණය 20 x 2 = ලකුණු 40කි.
2 ප්‍රශ්නය ද අනිවාර්ය ප්‍රශ්නයක් වුවද ඒ සඳහා පිළිතුරු සපයා ඇත්තේ අපේක්ෂකයින්ගෙන් 99%ක් පමණි.
ඉන් ලකුණු 00 - 10 ප්‍රාන්තරයේ 22%ක් ද,
ලකුණු 11 - 20 ප්‍රාන්තරයේ 19%ක් ද,
ලකුණු 21 - 30 ප්‍රාන්තරයේ 28%ක් ද,
ලකුණු 31 - 40 ප්‍රාන්තරයේ 31%ක් ද,
ලකුණු ලබාගෙන ඇත. ඒ අනුව මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 31 හෝ 31ට වඩා ලකුණු ලබාගත් පිරිස අපේක්ෂකයින්ගෙන් 31%ක් පමණක් වන අතර, අපේක්ෂකයින් 22%ක්ම ලබාගෙන ඇත්තේ ලකුණු 10 හෝ ඊට අඩුවෙනි. මෙම ප්‍රශ්නය සඳහා වෙන් කළ ලකුණු ප්‍රමාණයෙන් ලකුණු 20කටත් වඩා ලකුණු ලබාගත් අයදුම්කරුවන්ගේ ප්‍රතිශතය 59%ක් විය.




සමස්ථයක් ලෙස අනුකොටස් 7කින් යුත් මෙම ප්‍රශ්නයේ පහසුතාව ඉහළ අගයක් ගනී. පහසුතාව වැඩිම අනුකොටස (ආ) (1) වන අතර එහි පහසුතාවය 87%කි. පහසුතාව අඩුම අනුකොටස (අ) 2 වේ. එහි පහසුතාව 42%කි.

2 වන ප්‍රශ්නයේ (අ) (1) කොටසෙහි පහසුතාව 86%කි. එයින් පිරික්සා ඇත්තේ සංශෝධිත මුදල් ශේෂය සෙවීම හා බැංකු සැසඳුම් ප්‍රකාශය සකස් කිරීම පිළිබඳ අවබෝධයයි. ඒ අනුව අපේක්ෂකයි-න්ගෙන් බහුතරයක් මෙම කොටස සඳහා සාර්ථකව පිළිතුරු සපයා ඇති බව කිව හැකිය.

(අ) 2 මෙම කොටසේ පහසුතාව 42%කි. මෙයින් පරීක්ෂා කිරීමට යොමු වී ඇත්තේ සේවා සපයන හවුල් ව්‍යාපාරයක ආදායම් ප්‍රකාශනය සකස් කිරීම පිළිබඳ දැනුම හා අවබෝධයයි. ලකුණු අඩුවීමට හේතු වූ කරුණු අතුරින් සේවා සපයන ව්‍යාපාරයක අදායම් ප්‍රකාශනය සකස් කිරීම පිළිබඳ අවෙ-බෝධය දුර්වල මට්ටම පැවතීමත් උපදේශන ආදායම නිවැරදිව හඳුනා නොගැනීමයි. සේවා සපයන ව්‍යාපාරවල මූල්‍ය ප්‍රකාශන සකස් කිරීම සහ ඉහත අනෙකුත් කරුණු ආවරණය වන පරිදි ප්‍රායෝග ික අභ්‍යාස යොදාගෙන ඉගෙනුම් ඉගැන්වීමේ ක්‍රියාවලිය සංවිධානය වීම වැදගත් විය හැක.

(අ) 3 මෙම කොටසේ පහසුතාවය 62%කි. මෙයින් පිරික්සා ඇත්තේ හවුල්කරුවන්ගේ ප්‍රාග්ධන හා ජංගම ගිණුම් සකස් කිරීම පිළිබඳ දැනුම සහ අවබෝධයයි. මෙම ප්‍රශ්නයට පිළිතුරු සැපයීමේදී අපේක්ෂකයින් විසින් ජංගම ගිණුම පිළියෙල කිරීමේදී ගෙවූ ණය පොලිය හා ගෙවූ වේතන ජංගම ගිණුමට හර කර නොතිබීම යන දුර්වලතා හඳුනා ගත හැකි විය.

(ආ) 1 කොටසේ පහසුතාවය 87%ක් වූ අතර, මෙයින් පිරික්සා ඇත්තේ පොදු කාර්ය පිරිවැය විශ්ලේෂණ පත්‍රිකාව පිළියෙල කිරීම පිළිබඳ අවබෝධයයි. අපේක්ෂකයින්ගෙන් බහුතරයක් එයට සාර්ථකව පිළිතුරු සපයා ඇති බව පෙනී යයි.

(ආ) 2 කොටසේ පහසුතාවද 85%ක් වැනි ඉහළ මට්ටමක පැවති අතර, එයින් පිරික්සා තිබුණේ පොදු කාර්ය පිරිවැය අන්තර්ග්‍රහන අනුපාත ගණනය කිරීම පිළිබඳ දැනුම සහ අවබෝධය යයි.

(ආ) 3 කොටසේ පහසුතාවය ද 70%සැලකිය යුතු මට්ටමක පැවති අතර, එයින් පිරික්සා තිබුණේ නිෂ්පාදිතයක මුළු නිශ්පාදන පිරිවැය සෙවීම සම්බන්ධ දැනුම වේ. අපේක්ෂකයින්ගෙන් සුළු පිරිසක්, සපත්තු යුගලයක නිෂ්පාදන පිරිවැය ගණනය කිරීමේදී පොදු කාර්ය පිරිවැය අන්තර්ග්‍රහණ අනුපාත, සත්‍ය පැය ගණනින් ගුණ කර නොතිබීම දුර්වලතාවයකි.

(ආ) 4 කොටසේ පහසුතාවය 53%ක් වූ අතර, යම් ක්‍රියාකාරී මට්ටමක දී මුළු පිරිවැය සෙවීමේ අවබෝධය පිරික්සා තිබුණි. අපේක්ෂකයින්ගෙන් සැලකිය යුතු පිරිසක් මුළු පිරිවැය ගණනය කිරීමේදී නිෂ්පාදන නොවන විචල්‍ය පිරිවැය සහ නිෂ්පාදන නොවන ස්ථාවර පිරිවැය සැලකිල්ලට ගෙන නොතිබීම දක්නට ලැබුණි.

මුළු පිරිවැය ගණනය කිරීමේදී නිෂ්පාදන පිරිවැය මෙන්ම නිෂ්පාදන නොවන පිරිවැය ද සැලකිල්ලට ගත යුතු බව අවබෝධවන ආකාරයට ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය වීම වැදගත් වනු ඇත.

03 ප්‍රශ්නය

**3.** සමන් සිල්ලර වෙළෙඳ ව්‍යාපාරයක් පවත්වාගෙන යනු ලබයි. 2016.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා කෙටුම්පත් ආදායම් ප්‍රකාශනයේ රු. 600 000 ක ලාභයක් වාර්තා කරන ලදී. 2016.03.31 දිනට කෙටුම්පත් මූල්‍ය තත්ත්ව ප්‍රකාශනයේ රු. 50 000 ක මුදල් ශේෂයක් පෙන්වන ලදී. කෙසේ වුව ද ඔහු ගිණුම් පොත් නිසියාකාරව පවත්වා නොගනී. පහත ගනුදෙනු ගිණුම් පොත්වල වාර්තා කර නොමැති බව පසුව හෙළිදරව් විය.

| අංකය | ගනුදෙනුව |
|---|---|
| 1 | රු. 80 000 කට භාණ්ඩ ණයට විකිණීම. මෙම භාණ්ඩවල පිරිවැය රු. 60 000 ක් විය. |
| 2 | රු. 36 000 කට ණයට විකුණූ භාණ්ඩ ආපසු එවීම. මෙම භාණ්ඩවල පිරිවැය රු. 30 000 ක් විය. |
| 3 | පිරිවැය රු. 10 000 ක් වූ භාණ්ඩ පරිත්‍යාග කිරීම. |
| 4 | ව්‍යාපාරයේ නඩත්තු වියදම් රු. 10 000 ක් විය. මෙයින් රු. 6 000 ක් සමන් විසින් පුද්ගලික ව ගෙවන ලද අතර ඉතිරිය ව්‍යාපාරය විසින් ගෙවන ලදී. |
| 5 | 2015.07.01 දින 12% ක වාර්ෂික පොලියට රු. 300 000 ක බැංකු ණයක් ලබා ගැනීම. පොලිය මෙතෙක් ගෙවා නොමැත. |
| 6 | 2016.03.31 දින රු. 280 000 ක අත්පිට මුදලට ත්‍රී රෝද රථයක් මිල දී ගැනීම. |
| 7 | ණයගැතියකුගෙන් අය විය යුතු රු. 30 000 ක් ඔහුට ණයහිමියකු ලෙස ගෙවිය යුතු වූ රු. 50 000 කට එරෙහිව හිලව් කිරීම. ඉතිරිය මුදලින් ගෙවන ලදී. |
| 8 | රු. 12 000 ක් සමන්ගේ ජීවිත රක්ෂණ වාරිකය වෙනුවෙන් ගෙවා ඇත. |
| 9 | ගනුදෙනු අංක 1ට අදාළ ව ලැබිය යුතු මුදල 5% ක වට්ටමක් අඩු කිරීමෙන් පසු ලැබීම. |
| 10 | පෙර වර්ෂයක දී බොල් ණය ලෙස කපා හල රු. 15 000 ක් ලැබීම. |

**අවශ්‍යවන්නේ:**

(1) මෙම ගනුදෙනුවල බලපෑම (අගයන් සහිතව) ගිණුම්කරණ සමීකරණය භාවිත කරමින් පෙන්නුම් කර, එක් එක් අගය ඉදිරියෙන් එය වැඩි වේ නම් (+) ද, අඩු වේ නම් (–) ද යන්න සඳහන් කරන්න. (පහත දී ඇති ආකෘතියට සමාන ආකෘතියක් භාවිත කරන්න).

**රු.'000**

| ගනුදෙනු අංකය | වත්කම් | | | | වගකීම් | | | හිමිකම |
|---|---|---|---|---|---|---|---|---|
| | දේපළ, පිරියත සහ උපකරණ | තොග | වෙළෙඳ ලැබිය යුතු දෑ | මුදල් | දිගුකාලීන ණය | වෙළෙඳ ගෙවිය යුතු දෑ | වෙනත් ගෙවිය යුතු දෑ | |
| | | | | | | | | |

(2) 2016.03.31 දිනට සංශෝධිත මුදල් ශේෂය

(3) 2016.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා සංශෝධිත ලාභය (හිමිකම මත ගනුදෙනුවල ශුද්ධ බලපෑම පදනම්ව)

**(මුළු ලකුණු 15 යි)**

පිළිතුර

**ප්‍රශ්න අංක 03**

**(3) (1)**

| ගනුදෙනු අංකය | වත්කම් | | | වගකීම් | | | | හිමිකම් | |
|---|---|---|---|---|---|---|---|---|---|
| | දේපල පිරියත සහ උපකරණ | තොගය | වෙළෙඳ ලැබිය යුතු දෑ | මුදල් | දිගුකාලීන ණය | වෙළෙඳ ගෙවිය යුතු දෑ | වෙනත් ගෙවිය යුතු දෑ | | |
| 1 | | -60 | +80 | | | | | +20 | (02) |
| 2 | | +30 | -36 | | | | | -6 | (02) |
| 3 | | -10 | | | | | | -10 | (01) |
| 4 | | | | -4 | | (01) | | +6<br>-10 | (03)<br>(02) |
| 5 | | | | +300 | +300 | | +27 | -27 | (01) |
| 6 | +280 | | | -280 | | | | | (03) |
| 7 | | | -30 | -20 | | -50 | | | |
| 8 | | | | -12 | | | | -12 | (01) |
| 9 | | | -80 | +76 | | | | -4 | (03) |
| 10 | | | | -15 | | | | -15 | (02) |
| | 280 | -40 | -66 | 75 | 300 | -50 | 27 | -28 | |

**(ලකුණු 21)**

**(2)**

| | | |
|---|---|---|
| **පෙරවැඩ** | රු | |
| නිවැරදි කිරීමට පෙර මුදල් ශේෂය | 50 | 01 |
| ඉහත ගනුදෙනු වලින් වූ බලපෑම | 75 | 03 |
| | 125 | |

**(ලකුණු 04)**

**(3)**

විකල්ප පෙරවැඩ

මුදල් ගිණුම (රු'000)

| | | | |
|---|---|---|---|
| ශේෂය ඉ/ගෙ | 50 | නඩත්තු වියදම් | 4 |
| බැංකු ණය | 300 | ත්‍රිරෝද රථ ගැණුම් | 280 |
| ණයගැති ලැබීම් | 76 | ණයහිමියන්ට ගෙවීම් | 20 |
| කපාහල බොල්ණය ආපසු ලැබීම | 15 | ගැනිලි (රක්‍ෂණ වාරික ගෙවීම) | 12 |
| | | ශේෂය ප/ගෙ | 125 |
| | 441 | | 441 |

(අවසාන ශේෂය හැර ඕනෑම අයිතම 2 කට ලකුණු 01 බැගින් ලකුණු 04)

**(3)** සංශෝධිත ලාභය රු. 578 (05)

| පෙරවැඩ | | රු | |
|---|---|---|---|
| කෙටුම්පත් ලාභය | | 600 | |
| (-) හිමිකමේ අඩුවීම | 02 | (28) | |
| (+) ගැනිලි | | 12 | 01 |
| (-) අමතර ප්‍රග්ධනය | | (6) | 01 |
| සංශෝධිත ලාභය | | 578 | |

| විකල්ප පෙරවැඩ | | |
|---|---|---|
| කෙටුම්පත් ලාභය | (රු'000) | |
| දළ ලාභයෙහි වැඩි වීම | 600 | |
| ආපසු එවුම් | 20 | 01 |
| වියදම් (10 000 + 10 000 + 27 000 + 4 000) | (6) | 01 |
| බොල් ණය ආපසු ලැබීම | (51) | 01 |
| | 15 | 01 |
| | 578 | |

**3 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :**




ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණු ප්‍රමාණය 15 x 2 = ලකුණු 30කි.
3 ප්‍රශ්නය අපේක්ෂකයින්ගෙන් 93%ක් පමණ තෝරා ගෙන ඇත.
ඉන් ලකුණු 00 - 07 ප්‍රාන්තරයේ 17%ක් ද,
ලකුණු 08 - 15 ප්‍රාන්තරයේ 28%ක් ද,
ලකුණු 16 - 23 ප්‍රාන්තරයේ 31%ක් ද,
ලකුණු 24 - 30 ප්‍රාන්තරයේ 25%ක් ද,
ලකුණු ලබාගෙන ඇත. ඒ අනුව මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 24 හෝ ඊට වඩා ලකුණු ලබාගත් පිරිස 25%ක් වන අතර ලකුණු 7 හෝ ඊට අඩුවෙන් ලබාගත් පිරිස අපේක්ෂකයින්ගෙන් 17%කි. අපේක්ෂකයින්ගෙන් 56%ක්ම මෙම ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණුවලින් අඩකට වඩා ලබාගෙන තිබුණි.




මෙම ප්‍රශ්නයට අයත් අනුකොටස් 3 අතුරෙන් සාපේක්ෂව පහසුතාව වැඩිම කොටස (1) වන අතර එහි පහසුතා මට්ටම 68%කි. එසේම පහසුතාවය අඩුම කොටස (3) වන අතර එහි පහසුතාව මට්ටම 34% කි.

(3) (1) කොටසේ පහසුතාවය 68%ක ඉහළ මට්ටමක පැවති අතර, මෙම ප්‍රශ්නය මගින් ගිණුම්කරණ සමීකරණ පිළිබඳ දැනුම පිරික්සා ඇත. කෙසේ වෙතත් මෙම ප්‍රශ්නයට පිළිතුරු සැපයීමේදී සමීකරණයට විවිධ ගනුදෙනුවල බලපෑම දැක්වීමේදී ව්‍යාපාරයේ නඩත්තු වියදම්, අයිතිකරුගේ පෞද්ගලික වියදමින් දැරුවිට සටහන් කළ යුතු ආකාරය හොඳින් වටහා නොගැනීම ද බැංකුණය සඳහා පොලිය ගණනයේදී ණය ලබාගත් දිනය පිළිබඳ සැලකිලිමත් නොවීම ද අපේක්ෂකයින් විසින් දක්වා ඇති දුර්වලතාවයන් වේ.

(2) වන කොටසේ පහසුතාවය 59%ක් වූ අතර, එමගින් පිරික්සා ඇත්තේ සංශෝධිත මුදල් ශේෂය සෙවීම පිළිබඳ දැනුමයි. කෙසේ වෙතත් සැලකිය යුතු අපේක්ෂකයින් පිරිසක් සංශෝධිත මුදල් ශේෂය ගණනය කිරීමේදී මුදල් ලැබීම්, මුදල් ගෙවීම්වලින් මුදල් ශේෂයට වන බලපෑම අවබෝධ කරගෙන නොතිබුණි.

(3) මෙම කොටසේ පහසුතාවය 34%ක ඉතා අඩු මට්ටමක පැවති අතර, එමගින් පිරික්සා කර ඇත්තේ සංශෝධිත ලාභය ගණනය කිරීමයි. මෙම ප්‍රශ්නය සඳහා පිළිතුරු සැපයීමේ දී අපේක්ෂකයින් විසින් පෙන්නුම් කරන ලද ප්‍රධාන දුර්වලතාවයන් අතර ශුද්ධ ලාභය (ලාභ සංශෝධනය) ගණනය කිරීමේදී අනුගමනය කළයුතු ක්‍රමවේදය දක්වා තිබුණත් එය අවබෝධ කර නොගෙන වෙනත් ක්‍රමවලට ලාභය ගණනය කිරීමට උත්සාහ දැරීම ප්‍රධාන වේ. ලාභය/අලාභය ගණනය කිරීමේදී මෙන්ම අසම්පූර්ණ වාර්තාවලදී එය සංශෝධනය කිරීමේදීද ලාභ සමීකරණය යොදා ගැනීම පිළිබඳ අවධානය යොමු කරමින් ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය වීම වැදගත් වනු ඇත.

04 ප්‍රශ්නය

**4.** දිමුතු ඔහුගේ පුද්ගලික ඉතුරුම්වලින් රු. 900 000 ක් ආයෝජනය කරමින් 2016.04.01 දින නිෂ්පාදන ව්‍යාපාරයක් ආරම්භ කරන ලදී. 2016 අප්‍රේල් මාසය තුළ දී සිදු කරන ලද ගනුදෙනුවල සාරාංශය පහත දී ඇත.

(i) මුදල් ලැබීම් සහ ගෙවීම් ජර්නල්වල සටහන් කළ ගනුදෙනුවල සාරාංශය:

| | රු.'000 |
|---|---|
| **ලැබීම්:** | |
| විකුණුම් | 6 000 |
| ණයගැතියන්ගෙන් ලැබීම් | 2 000 |
| **ගෙවීම්:** | |
| අමුද්‍රව්‍ය ගැනුම් | 1 200 |
| ණයහිමියන්ට ගෙවීම් | 800 |
| අමුද්‍රව්‍ය මිල දී ගැනීම සඳහා ගෙවූ අත්තිකාරම | 300 |
| යන්ත්‍ර ක්‍රියාකරුවන්ගේ වේතන | 400 |
| නිෂ්පාදන සුපරීක්ෂකවරුන්ගේ වැටුප් | 700 |
| කර්මාන්තශාලා විදුලිය | 60 |
| කර්මාන්තශාලා කුලී | 600 |
| පරිපාලන වියදම් | 200 |
| යන්ත්‍රයක් මිල දී ගැනීම (2016.04.01 දින) | 4 000 |

(ii) අනෙකුත් මූලික සටහන් පොත්වල එකතුන්:

| | රු.'000 |
|---|---|
| විකුණුම් ජර්නලය | 12 000 |
| ගැනුම් ජර්නලය | 8 000 |
| ආපසු එවුම් ජර්නලය | 500 |

(iii) අමුද්‍රව්‍ය මිල දී ගැනීම වෙනුවෙන් ගෙවූ අත්තිකාරම සඳහා, රු. 100 000 ක් වටිනා අමුද්‍රව්‍ය පමණක් 2016.04.27 දින ලැබුණි. මෙය මෙතෙක් ගිණුම් පොත්වල සටහන් කර නොමැත.

(iv) ණයගැතියන්ගෙන් ලැබිය යුතු රු. 300 000 ක් අයකර ගත නොහැකි අතර එය බොල්ණය ලෙස කපා හැරිය යුතු වේ.

(v) මාසික කර්මාන්තශාලා කුලිය රු. 200 000 ක් වන අතර පළමු කාර්තුව සඳහා කුලී ගෙවා ඇත.

(vi) 2016 අප්‍රේල් මාසය සඳහා රු. 50 000 ක් වූ විදුලි බිල 2016.05.10 දින ලැබී ඇත.

(vii) යන්ත්‍රයේ ඵලදායී ජීව කාලය වසර 10 ක් වන අතර සුන්බුන් අගය රු. 400 000 කි. යන්ත්‍ර, සරල මාර්ග ක්‍රමයට ක්ෂය කරනු ලබයි.

(viii) මාසය අවසානයේ දී තොග ශේෂයන් පහත පරිදි විය:

| | රු.'000 |
|---|---|
| අමුද්‍රව්‍ය | 300 |
| නොනිමි ද්‍රව්‍ය (නිෂ්පාදන පිරිවැයට අගය කළ) | 80 |
| නිමි භාණ්ඩ | 100 |

**අවශ්‍යවන්නේ:**

(1) 2016 අප්‍රේල් මාසය සඳහා පොදු ලෙජරයේ පහත ගිණුම් ('T' ආකෘතිය භාවිත කරමින්):
- (i) විකුණුම්
- (ii) ණයගැති පාලන
- (iii) අමුද්‍රව්‍ය ගැනුම්
- (iv) ණයහිමි පාලන
- (v) අත්තිකාරම් ගෙවීම්

(2) 2016 අප්‍රේල් මාසය සඳහා නිෂ්පාදන ගිණුම

(3) 2016 අප්‍රේල් මාසය සඳහා ආදායම් ප්‍රකාශනය

(4) 2016.04.30 දිනට පහත අයිතමවල අගයන්:
- (i) දේපළ, පිරියත සහ උපකරණ
- (ii) ඉදිරියට ගෙවූ වියදම්
- (iii) හිමිකම්

**(මුළු ලකුණු 15 යි)**

## පිළිතුර

**ප්‍රශ්න අංක 04**

04. (1) විකුණුම් ගිණුම (රු'000)

| | | | | |
|---|---|---|---|---|
| ලාභාලාභ ගිණුම | 1 800 | මුදල් | 6 000 | (01) |
| | | ණයගැති පාලන | 12 000 | (01) |
| | 1 800 | | 18 000 | |

(2) ණයගැති පාලන ගිණුම

| | | | | |
|---|---|---|---|---|
| විකුණුම් | 12 000 | මුදල් | 2 000 | (01) |
| | | ආපසු එවුම් | 500 | |
| | | බොල් ණය | 300 | (01) |
| | | ශේෂය ප/ගෙ | 9 200 | (01) |
| | 12 000 | | 12 000 | |

(3) අමුද්‍රව්‍ය ගැනුම් ගිණුම

| | | | | |
|---|---|---|---|---|
| මුදල් | 1 200 | (01) | ලාභාලාභ ගිණුම | 9 300 |
| ණයහිමි පාලන | 8 000 | (01) | | |
| අත්තිකාරම් | 100 | (01) | | |
| | 9 300 | | | 9 300 |

(4) ණයහිමි පාලන ගිණුම

| | | | | |
|---|---|---|---|---|
| මුදල් | 800 | (01) | ලාභාලාභ ගිණුම | 8 000 |
| ශේෂය ප/ගෙ | 7 200 | | | |
| | 8 000 | | | 8 000 |

(5) අත්තිකාරම් ගෙවීම් ගිණුම

| | | | |
|---|---|---|---|
| මුදල් | 300 (01) | අමුද්‍රව්‍ය ගැනුම් | 100 |
| | | ශේෂය ප/ගෙ | 200 |
| | 300 | | 300 |

**(ලකුණු 13)**

(2) දිමුතු නිෂ්පාදන ව්‍යාපාරය
2016 අප්‍රේල් මාසය සඳහා නිෂ්පාදන ගිණුම

(රු'000)

| | | | |
|---|---|---|---|
| **අමුද්‍රව්‍ය ගැනුම්** | | (01) 9 300 | |
| 2016.04.30 දිනට තොගය | | (300) | (01) |
| පරිභෝජනය කළ අමුද්‍රව්‍ය පිරිවැය | | 9 000 | |
| **ඍජු වේතන** | | | |
| යන්ත්‍ර ක්‍රියාකරුවන්ගේ වේතන | | 400 | (01) |
| ප්‍රාථමික පිරිවැය | | 9 400 | |
| **නිෂ්පාදන පොදු කාර්ය පිරිවැය** | | | |
| නිෂ්පාදන සුපරීක්ෂක වැටුප් | 700 (01) | | |
| විදුලිය | 50 (01) | | |
| කර්මාන්ත ශාලා කුලී | 200 (01) | | |
| යන්ත්‍ර ක්ෂය | 30 (01) | 980 | |
| | | 10 380 | |
| 2016.04.30 දිනට නොනිමි තොගය | | (80) | (01) |
| මුළු නිෂ්පාදන පිරිවැය | | 10 300 | |

**(ලකුණු 08)**

(3) දිමුතු නිෂ්පාදන ව්‍යාපාරය
2016 අප්‍රේල් මාසය සඳහා ආදායම් ප්‍රකාශනය

(රු'000)

| | | |
|---|---|---|
| විකුණුම් | 18 000 | (01) |
| ආපසු එවුම් | (500) | (01) 17 500 |
| නිෂ්පාදන පිරිවැය | (01) 10 300 | |
| 2016.04.30ට නිමි තොගය | (100) | (01) (10 200) |
| | | 7 300 |
| දළ ලාභය | | |
| වියදම් | | |
| පරිපාලන වියදම් | 200 | (01) |
| බොල් ණය | 300 | |
| | | (500) |
| ලාභය | | 6 800 |

**(ලකුණු 05)**

(රු' 000)

(4) (i) 2016.04.30 දිනට දේපළ, පිරියත හා උපකරණ 3 970 (01)

| පෙර වැඩ | (රු' 000) |
|---|---|
| යන්ත්‍රයේ පිරිවැය | 4 000 |
| ක්ෂය | (30) [01] |
| | 3 970 |

(රු' 000)

(ii) ඉදිරියට ගෙවූ වියදම් 410

| පෙර වැඩ | (රු' 000) |
|---|---|
| ඉදිරියට ගෙවූ කුලී | 400 [01] |
| ඉදිරියට ගෙවූ විදුලිය | 10 [01] |
| | 410 |

(රු' 000)

(iii) හිමිකම = 7 700 (01)

| පෙර වැඩ | (රු' 000) |
|---|---|
| 2016.04.01ට ප්‍රාග්ධනය | 900 |
| ලාභය | [01] 6 800 |
| | 7 700 |

**(ලකුණු 04)**

4 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණු ප්‍රමාණය 15 x 2 = ලකුණු 30 කි.
4 ප්‍රශ්නය තෝරාගෙන ඇත්තේ අපේක්ෂකයින්ගෙන් 64%ක් පමණි.
ඉන් ලකුණු 00 - 07 ප්‍රාන්තරයේ 26%ක් ද,
ලකුණු 08 - 15 ප්‍රාන්තරයේ 28%ක් ද,
ලකුණු 16 - 23 ප්‍රාන්තරයේ 24%ක් ද,
ලකුණු 24 - 30 ප්‍රාන්තරයේ 22%ක් ද,
ලකුණු ලබාගෙන ඇත. ඒ අනුව මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 24 හෝ ඊට වැඩියෙන් ලකුණු ලබාගත් පිරිස 22%ක් පමණක් වන අතර අපේක්ෂකයින්ගෙන් 26%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 07 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට අයත් අනුකොටස් අතරින් කොටස් 6කම පහසුතාව 51%ට වඩා ඉහළය. පහසුතාව අවම අනුකොටස 4(iii) වන අතර එහි පහසුතාව 32%කි.

(4) (අ) (i) කොටසේ පහසුතාවය 96%කි. අපේක්ෂකයින් ගිණුම්කරණ ක්‍රියාවලිය නිවැරදි ව අවබෝධ කර ගැනීම නිසා එසේ ඉහළ ප්‍රතිශතයක් ලබා ඇති බව කිව හැකිය.

(1) (ii) කොටසේ පහසුතාවය 72%කි. ණයගැති පාලන ගිණුමේ හරට සහ බැරට අදාළ අයිතම නිවැරදි ව හඳුනා නොගැනීම. මෙම ප්‍රතිශතය ඉහළ නංවා ගැනීමට පාලන ගිණුම් පිළිබඳ අවබෝධය තවදුරටත් අවශ්‍ය බව පෙනේ.

(1) (iii) කොටසේ පහසුතාවය 58%කි. අමුද්‍රව්‍ය මිලදී ගැනීමට ගෙවූ මුළු අත්තිකාරම් මුදලම අමුද්‍රව්‍ය ගැණුම් ගිණුමට හර කිරීම නිසා නිවැරදි ගැණුම් වටිනාකම ගණනය කිරීමට නොහැකි වී තිබුණි. එමෙන්ම ඉදිරියට ගෙවූ අත්තිකාරම් සම්බන්ධ ගිණුම් තබන ආකාරය පිළිබඳ ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය කිරීම තුළින් මෙම ප්‍රතිශතය ඉහළ නංවා ගත හැකිය.

(1) (iv) කොටසේ පහසුතාවය 71%කි. පාලන ගිණුම් පිළිබඳ අවබෝධය අල්පවීම නිසා මෙම කොටසට පිළිතුරු ලියා නොතිබීම දක්නට ලැබුණි. පාලන ගිණුම් පිළිබඳ අවබෝධය ලබාදීමෙන් මේ තත්ත්වය මඟහරවා ගත හැකිය.

(1) (v) කොටසේ පහසුතාව 64%කි. අත්තිකාරම්වලින් ගිණුම් කාලච්ඡේදයට අදාළ ප්‍රමාණය හඳුනා නොගැනීම දක්නට ලැබුණි. මේ පිළිබඳ දැනුවත් වූයේ නම් මෙම ප්‍රතිශතය ඉහළ නංවා ගැනීමට හැකිවනු ඇත.

4.2 කොටසේ පහසුතාවය 49%කි. මෙයින් පිරික්සා ඇත්තේ නිෂ්පාදන ගිණුම සකස් කිරීම පිළිබඳ අවබෝධයයි. කර්මාන්ත ශාලා කුලිය, විදුලිය, යන්ත්‍ර ක්ෂය යන වියදම්වලින් ගිණුම් කාලච්ඡේදයට අදාළ ප්‍රමාණය වෙන් කොට හඳුනා නොගැනීම. උපචිත සංකල්පයට අනුව ගිණුම් තැබීමේ අවබෝධය අල්ප වීම. ඊට හේතු විය හැකිය. ගිණුම් තැබීමේදී ගිණුම් කාලච්ඡේදයට අදාළ දිනයන් පිළිබඳ ව සැලකිලිමත් විය යුතු බව ද පෙනේ.

4.3 කොටසේ පහසුතාවය 51%කි. මෙයින් පරීක්ෂා කර ඇත්තේ ආදායම් ප්‍රකාශනය සකස් කිරීම පිළබිඳ දැනුම හා අවබෝධයයි. නිෂ්පාදන ගිණුමට හා ආදායම් ප්‍රකාශනයට ඇතුළත් කළ යුතු අයිතම වෙන් කොට හඳුනා නොගැනීම හා නිෂ්පාදන පිරිවැය ආදායම් ප්‍රකාශනයට මාරු කිරීම පිළිබඳ අවබෝධය නොමැතිවීම දැක්විය හැකිය.

ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානයේදී නිෂ්පාදන ගිණුම හා ආදායම් ප්‍රකාශනය එකවර පිළියෙල කරවීමෙන් මෙම තත්ත්වය මඟහරවා ගත හැකිය.

4.i කොටසේ පහසුතාවය 41%කි. යන්ත්‍ර ක්ෂය, මාසයක් සඳහා පමණක් ගණනය කළ යුතු බව අවබෝධය කර නොගැනීම, පහසුතාව මෙම මට්ටම දක්වා පහල බැසීමට හේතුවිය.

4.ii කොටසේ පහසුතාවය 38%කි. ගිණුම් කාලච්ඡේදයට අදාළ ඉදිරියට ගෙවූ වියදම් හඳුනා නොගැනීම ඊට හේතු විය හැක.

4.iii කොටසේ පහසුතාවය 22%කි. 4 ප්‍රශ්නය තෝරාගත් අපේක්ෂකයින් වුවද මෙම කොටසට පිළිතුරු ලියා නොතිබීම, මෙයට හේතුවේ.

ගිණුම් කාලච්ඡේදයට අදාළ ආදායම්, වියදම් ගණනය කරන විට අදාළ දිනය සැලකිල්ලට ගෙන ගණනය කළ යුතු බව අවධාරණය වන ආකාරයට ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය විය යුතුය.

05 ප්‍රශ්නය

5. (අ) නිෂ්පාදන සමාගමක් එහි මෙහෙයුම් කාර්යක්ෂමතාවය වැඩි දියුණු කිරීම සඳහා දැනට පවතින යන්ත්‍රය වෙනුවට නව යන්ත්‍රයක් මිල දී ගැනීමට සලකා බලමින් සිටී. නව යන්ත්‍රයේ ඵලදායී ජීව කාලය වසර 5 කි. පහත ඇස්තමේන්තුගත මුදල් ප්‍රවාහයන් මෙම යන්ත්‍ර දෙක හා බැඳේ.

| **විස්තරය** | **නව යන්ත්‍රය (රු.'000)** | **දැනට පවතින යන්ත්‍රය (රු.'000)** |
|---|---|---|
| පිරිවැය ............ | 1 000 | – |
| වර්තමාන වෙළෙඳපළ වටිනාකම ............ | – | 300 |
| සුන්බුන් වටිනාකම ............ | 200 | – |
| වාර්ෂික මෙහෙයුම් පිරිවැය: | | |
| වර්ෂය 1 ............ | 100 | 300 |
| වර්ෂය 2 ............ | 100 | 300 |
| වර්ෂය 3 ............ | 120 | 320 |
| වර්ෂය 4 ............ | 120 | 320 |
| වර්ෂය 5 ............ | 140 | 360 |

නව යන්ත්‍රය මිල දී ගන්නේ නම් ව්‍යාපෘතිය ආරම්භයේ දී රු. 280 000 ක අතිරේක කාරක ප්‍රාග්ධනයක් අවශ්‍ය වන අතර එය ව්‍යාපෘතිය අවසානයේ දී නැවත ලබා ගත හැකි ය. ව්‍යාපෘතියේ අපේක්ෂිත ප්‍රතිලාභ අනුපාතය 10% කි.

10% වට්ටම් සාධක (දශමස්ථාන දෙකකට) පහත පරිදි වේ :

| **වර්ෂය** | **1** | **2** | **3** | **4** | **5** |
|---|---|---|---|---|---|
| වට්ටම් සාධකය | 0.91 | 0.83 | 0.75 | 0.68 | 0.62 |

**අවශ්‍යවන්නේ:**

(1) මෙම ව්‍යාපෘතියේ මුදල් ගලායාම් සහ ගලාඒම් ඇතුළත් ලේඛනයක්
(2) ව්‍යාපෘතියේ ශුද්ධ වර්තමාන අගය
(3) ශුද්ධ වර්තමාන අගය මත පදනම් ව ව්‍යාපෘතිය තෝරාගැනීම පිළිබඳ නිර්දේශය **(ලකුණු 05 යි)**

# පිළිතුර
## ප්‍රශ්න අංක 05

05. (අ) මුදල් ප්‍රවාහ (රු'000)

| අයිතමය \ වර්ෂය | 0 | 1 | 2 | 3 | 4 | 5 |
|---|---|---|---|---|---|---|
| මුදල් ගලා ඒම් : | | | | | | |
| පැරණි යන්ත්‍රය විකිණීම | 300 | (01) දෙකකට ලකුණු 01 බැගින් උපරිම ලකුණු (02) | | | | |
| මෙහෙයුම් පිරිවැයේ ඉතිරිය | - | 200 | 200 | 200 | 200 | 220 (01) |
| කාරක ප්‍රග්ධනය ආපසු ලැබීම් | | | | | | 280 (01) |
| සුන්බුන් අගය | | | | | | 200 |
| | 300 | 200 | 200 | 200 | 200 | 700 |
| මුදල් ගලායෑම් : | | | | | | |
| යන්ත්‍රයේ පිරිවැය | (1 000) (01) | | | | | |
| කාරක ප්‍රාග්ධනය | (280) (01) | | | | | - |
| | (1 280) | - | - | - | - | - |
| ශුද්ධ මුදල් ප්‍රවාහය | (980) | 200 | 200 | 200 | 200 | 700 |

**(ලකුණු 07)**

(රු' 000)

(2) ශුද්ධ වර්තමාන අගය (NPV) = 1 068 000 - 980 000 = රු. 88 000 (01) **(ලකුණු 02)**

**පෙරවැඩ**

| වර්ෂ | | ශුද්ධ මුදල් ප්‍රවාහ | වට්ටම් සාධක | (රු'000) වර්තමාන අගය | |
|---|---|---|---|---|---|
| 0 | | (980) | 1.0 | (980) | |
| 1 | 01 | 200 | 0.91 | 182 | 01 |
| 2 | | 200 | 0.83 | 166 | |
| 3 | | 200 | 0.75 | 150 | |
| 4 | | 200 | 0.68 | 136 | |
| 5 | | 700 | 0.62 | 434 | |
| | | ශුද්ධ වර්තමාන අගය | | 88 | |

(3) ශුද්ධ වර්තමාන අගය ධන බැවින් ව්‍යාපෘතිය පිළිගැනීම යෝග්‍ය වේ. (01) **(ලකුණු 01)**

**(ආ)** පාසලක ගුරුවරුන්ගේ සුභසාධක සංගමයක් එහි සාමාජිකයින් සඳහා සුහද හමුවක් සංවිධානය කරමින් සිටී. මෙම සංගමයේ සාමාජිකත්වය දැනට සේවයෙහි නියුතු ගුරුවරුන් 120 කින් සහ විශ්‍රාමික ගුරුවරුන් 30 කින් සමන්විත වේ. මෙම හමුව සඳහා පහත වියදම් ඇස්තමේන්තු කර ඇත.

| | | රු. |
|---|---|---|
| සංග්‍රහ වියදම් | එක් සාමාජිකයකුට | 1 100 |
| සමරු කලාපය | එක් සාමාජිකයකුට | 225 |
| තෑගි පාර්සලය | එක් සාමාජිකයකුට | 775 |
| හෝටල් ගාස්තු | | 35 000 |
| ශාලා සැරසිලි | | 5 000 |
| ශබ්ද විකාශන යන්ත්‍ර කුලී | | 2 000 |
| හමුව සංවිධානය කිරීමේ වියදම් | | 3 000 |

විශ්‍රාමික ගුරුවරුන් ද ඇතුළුව සහභාගී වන සියලු ගුරුවරුන්ට ප්‍රවේශ පත්‍ර අලෙවි කිරීමට සංගමය බලාපොරොත්තු වේ. ප්‍රවේශ පත්‍රයක් රු. 3 000 කට මිල කර ඇත. අතිරික්ත මුදල් පුණ්‍ය කටයුත්තක් සඳහා යොදවනු ඇත.

**අවශ්‍යවන්නේ:**

සුහද හමුවට අදාළ ව පහත දෑ ගණනය කරන්න:

(1) එක් ගුරුවරයකු මත දායකය
(2) මුළු පිරිවැය ආවරණය කිරීමට සහභාගී විය යුතු ගුරුවරු සංඛ්‍යාව
(3) සියලු ම ගුරුවරුන් සහභාගී වන්නේ නම්, පුණ්‍ය කටයුත්ත සඳහා පරිත්‍යාග කළ හැකි මුදල
(4) රු. 27 000 ක් පුණ්‍ය කටයුතු සඳහා පරිත්‍යාග කිරීම පිණිස සහභාගී විය යුතු ගුරුවරු සංඛ්‍යාව
(5) සියලු ම ගුරුවරුන් සහභාගී වන්නේ නම්, ප්‍රවේශ පත්‍රයක් විකිණිය හැකි අවම මිල
(6) විශ්‍රාමික ගුරුවරුන්ට ප්‍රවේශ පත්‍ර මිල දී ගැනීම අවශ්‍ය නොවන්නේ නම් සහ ඔවුන්ගෙන් 24 දෙනෙකු පැමිණීම අපේක්ෂා කරන්නේ නම්, මුළු පිරිවැය ආවරණය කිරීම සඳහා විකිණිය යුතු ප්‍රවේශපත්‍ර සංඛ්‍යාව

**(ලකුණු 10 යි)**
**(මුළු ලකුණු 15 යි)**

## පිළිතුර

05. (ආ) (1) එක් ගුරුවරයකු මත ආයකය = රු.900 (04)

**පෙරවැඩ**

විකුණුම් ආදායම - විචල්‍ය පිරිවැය

3 000 [01] - 2 100 [03] = 900

විචල්‍ය පිරිවැය :

| | | |
|---|---|---|
| සංග්‍රහ වියදම් | 1 100 | [01] |
| සමරු කලාපය | 225 | [01] |
| තෑගි පාර්සලය | 775 | [01] |
| | 2 100 | |

(2) මුළු පිරිවැය ආවරණය කිරීමට සහභාගි විය යුතු ගුරුවරු සංඛ්‍යාව = 50 (05)

**පෙරවැඩ**

$$\frac{\text{ස්ථාවර පිරිවැය}}{\text{ඒකක ආයකය}} = \frac{45\ 000\ [04]}{[01]\ 900}$$

ස්ථාවර පිරිවැය :

| | | |
|---|---|---|
| හෝටල් ගාස්තුව | 35 500 | [01] |
| ශාලා සැරසිලි | 5 000 | [01] |
| ශබ්ද විකාශන යන්ත්‍ර කුලී | 2 000 | [01] |
| හමුව සංවිධානය කිරීමේ වියදම් | 3 000 | [01] |
| | 45 000 | |

(3) සියළුම ගුරුවරුන් සහභාගී වන්නේ නම් පුණ්‍ය කටයුත්ත සඳහා පරිත්‍යාග කළ හැකි මුදල = රු. 90 000 (03)

**පෙරවැඩ**

මුළු ආයකය = [01] 900 × 150 [01] = 135 000

(-) ස්ථාවර පිරිවැය = 45 000

90 000

**විකල්ප පෙරවැඩ**

[01] 900 × (150 - 50)

[01] [01]

90 000

(4) රු. 27 000ක් පුණ්‍ය කටයුතු සඳහා පරිත්‍යාග කිරීම පිණිස සහභාගී විය යුතු ගුරුවරු සංඛ්‍යාව = රු. 80 (03)

**පෙරවැඩ**

$$\frac{\text{ස්ථාවර පිරිවැය + පරිත්‍යාග මුදල}}{\text{ඒකක ආයකය}}$$

$$\frac{[01]\ 45\ 000 + 27\ 000\ [01]}{[01]\ 900} = 80$$

(5) සියළුම ගුරුවරු සහභාගීවන්නේ නම් ප්‍රවේශ පත්‍රයක් විකිණිය හැකි අවම මිල = රු. 2 400 (03)

**පෙරවැඩ**

$$= \frac{\text{මුළු පිරිවැය}}{\text{සහභාගී වන ගුරුවරු සංඛ්‍යාව}}$$

$$= \frac{\boxed{01}\ 315\ 000 + \boxed{01}\ 45\ 000}{150\ \boxed{01}}$$

$$= \underline{\underline{2\ 400}}$$

**විකල්ප පෙරවැඩ**

150 $\boxed{01}$ = $\boxed{01}$ $\frac{45\ 000}{\text{මිල} - 2\ 100}$ $\boxed{01}$

මිල = 300 + 2 100

= $\underline{\underline{2\ 400}}$

(6) විශ්‍රාමික ගුරුවරුන්ට ප්‍රවේශ පත්‍ර මිලදී ගැනීම අවශ්‍ය නොවන්නේ නම් සහ ඔවුන්ගෙන් 24 දෙනෙකු පැමිණීම අපේක්ෂා කරන්නේ නම් මුළු පිරිවැය ආවරණය කර ගැනීමට විකිණිය යුතු ප්‍රවේශ පත්‍ර සංඛ්‍යාව = 106 (02)

**පෙරවැඩ**

$$= \frac{\text{ආවරණය කර ගත යුතු පිරිවැය}}{\text{ඒකක ආයකය}}$$

$$= \frac{45\ 000 + 50\ 400\ \boxed{01}}{\boxed{01}\ 900}$$

$$= \underline{\underline{106}}$$

**(ලකුණු 20)**

**(මුළු ලකුණු 30)**

5 වන ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :

ප්‍රශ්නය සඳහා ලකුණු ලබා ඇති ආකාරය




ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණු ප්‍රමාණය 15 x 2 = ලකුණු 30කි.
5 ප්‍රශ්නය තෝරාගෙන ඇත්තේ අපේක්ෂකයින්ගෙන් 70%ක් පමණි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 30ක් හිමිවේ.
ඉන් ලකුණු 00 - 07 ප්‍රාන්තරයේ 23%ක් ද,
ලකුණු 08 - 15 ප්‍රාන්තරයේ 21%ක් ද,
ලකුණු 16 - 23 ප්‍රාන්තරයේ 24%ක් ද,
ලකුණු 24 - 30 ප්‍රාන්තරයේ 32%ක් ද,
ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 24 හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 32%ක් වන අතර අපේක්ෂකයින්ගෙන් ලකුණු 07 හෝ ඊට අඩුවෙන් ලබාගෙන ඇති ප්‍රතිශතය 23%කි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 16ට වඩා ලබාගත් අපේක්ෂකයින්ගේ ප්‍රතිශතය 56%ක් වීමද සැළකිය යුතු තත්ත්වයකි.




මෙම ප්‍රශ්නයට අයත් අනු කොටස් 9න් කොටස් 5ක පහසුතාව 76% වඩා ඉහළය. ඉහළම පහසුතාව (අ) (3) 89% කි. (ආ) (1) 85%කි. අඩුම පහසුතාව (අ) (1) 66%ක්ද, (ආ) (6) 27%ක් ද වේ.

(5) (අ) (1) කොටසේ පහසුතාව 66%ක් වන අතර මෙයින් පිරික්සා ඇත්තේ මුදල් ගලා ඒම් සහ ගලා යාම් පිළිබඳ දැනුමයි. පැරණි යන්ත්‍රය වෙනුවට නව යන්ත්‍රය මිලදී ගැනීම නිසා වන වාර්ෂික මුදල් ප්‍රවාහයේ ඉතිරිය මුදල් ගලා ඒමක් ලෙස හඳුනා නොගැනීම මීට හේතු විය හැක. මේ පිළිබඳ අවබෝධය ලැබෙන පරිදි ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය විය යුතුය.

(ආ) (3) කොටසේ පහසුතාව 68%ක් දායකය හා ස්ථාවර පිරිවැය ප්‍රයෝජනයට ගෙන ලාභය සොයා ඇති බව හා එම ලාභය පුන්‍ය කටයුත්තකට යොදවන බව අවබෝධ කරගෙන නොමැති වීම විය හැකිය.

(ආ) (5) පහසුතාව 58%කි. මුළු පිරිවැය සහභාගී වන ගුරුවරු සංඛ්‍යාවෙන් බෙදා ප්‍රවේශ පත්‍රයක් විකිණිය හැකි අවම මිල තීරණය වන බව අවබෝධ නොවීම විය හැකිය.

(ආ) (6) පහසුතාව 27%කි. විශ්‍රාමික ගුරුවරුන් විසින් ප්‍රවේශ පත්‍ර මිලදී ගැනීම අවශ්‍ය නොවීම මෙම ප්‍රශ්නයේ පහසුතාව අඩුවීමට හේතු විය හැකිය. ඔවුන්ගෙන් 24 දෙනෙකු පැමිණීම අපේක්ෂා කිරීම සඳහා වූ පිරිවැය, ස්ථාවර පිරිවැයට එකතු කිරීම පිළිබඳ අපේක්ෂකයින් තුළ අවබෝධය අඩුවීම මෙයට හේතුව ලෙස දැක්විය හැකිය.

## 06 ප්‍රශ්නය

**6.** **(අ)** 2016.03.01 දින ස්ථාපිත කරන ලද මිගාර අධ්‍යාපන ආයතනය පාසල් හැර යන්නන් සඳහා ඉංග්‍රීසි ඩිප්ලෝමා පාඨමාලා පවත්වනු ලබයි. ආයතනයෙහි ස්ථිර ගුරුවරුන් දෙදෙනෙකු සහ තාවකාලික ගුරුවරයකු සේවයේ යොදවා ඇත. එක් ගුරුවරයකු මසකට පැය 120 ක් ඉගැන්විය යුතු ය.

(i) ගුරුවරුන්ගේ දළ වැටුප පහත අයිතමයන්ගෙන් සමන්විත වේ:

| | |
|---|---|
| • ඉගැන්වීම සඳහා ගෙවීම් (පැය 120 සඳහා): | |
| ස්ථිර-එක් ගුරුවරයකුට | මාසිකව රු. 75 000 |
| තාවකාලික | පැයකට රු. 500 |
| • අතිරේක සැසි පැවැත්වීම සඳහා ගෙවීම් | පැයකට රු. 750 |
| • පිළිතුරුපත්‍ර ලකුණු කිරීමේ ගාස්තු | පත්‍රයකට රු. 100 |

(ii) 2016 මාර්තු මාසය සඳහා ඉගැන්වූ පැය ගණන සහ ලකුණු කළ පිළිතුරුපත් සංඛ්‍යාව පහත පරිදි වේ.

| විස්තරය | ස්ථිර: | | තාවකාලික: |
|---|---|---|---|
| | නන්දනී | සුරේෂ් | මංජුල |
| මාසය තුළ වැඩ කළ පැය ගණන | 140 | 160 | 180 |
| ලකුණු කළ පිළිතුරුපත් සංඛ්‍යාව | 100 | 150 | 200 |

(iii) සේවක අර්ථසාධක අරමුදල් (EPF) සහ සේවක භාරකාර අරමුදල් (ETF) දායකත්වයන්, ස්ථිර මෙන් ම තාවකාලික ගුරුවරුන්ගේ දළ වැටුප මත පදනම් වේ. සේවයයා සහ සේවක EPF දායකත්වයන් පිළිවෙළින් 15% ක් සහ 10% ක් වේ. ETF සඳහා සේවයයාගේ දායකත්වය 3% ක් වේ.

**අවශ්‍යවන්නේ:**

2016 මාර්තු මාසය සඳහා:

(1) වැටුප් ලේඛනය

(2) වැටුප් පාලන ගිණුම **(ලකුණු 05 යි)**

පිළිතුර

**ප්‍රශ්න අංක 06**

(අ) (1)

මිගාර අධ්‍යාපන ආයතනය
2016 මාර්තු මාසය සඳහා වැටුප් ලේඛනය

| සේවකයාගේ නම | මූලික වැටුප | අතිරේක සැසි දීමනා | පිළිතුරු පත්‍ර දීමනා | දළ වැටුප | සේවක අර්ථ සාධක අරමුදල් | ශුද්ධ වැටුප | සේව්‍ය EPF දායකය | සේව්‍ය EPF දායකය |
|---|---|---|---|---|---|---|---|---|
| නන්දනී | 75 000 | 15 000 | 10 000 | 10 000 | 10 000 | 10 000 | 15 000 | 3 000 |
| සුරේෂ් | 75 000 | 30 000 | 15 000 | 120 000 | 12 000 | 108 000 | 18 000 | 3 600 |
| මංජුල | 60 000 | 45 000 | 20 000 | 125 000 | 12 500 | 112 500 | 18 750 | 3 750 |
| | 210 000 | 90 000 | 45 000 | 345 000 | 34 500 | 310 500 | 51 750 | 10 350 |
| | (01) | (01) | (01) | (01) | (01) | (01) | (01) | (01) |

**(ලකුණු 07)**

(2) වැටුප් පාලන ගිණුම (රු.'000)

| | | | | | |
|---|---|---|---|---|---|
| සේවක අර්ථ සාධක අරමුදල | (01) | 34 500 | වැටුප් හා වේතන | (01) | 345 000 |
| මුදල්/ගෙවිය යුතු වැටුප් | (01) | 310 500 | | | |
| | | 345 000 | | | 345 000 |

**(ලකුණු 03)**

(ආ) 2013.04.01 දින පාසලක ආදි ශිෂ්‍යාවන්ගේ සංගමයක් ස්ථාපිත කරන ලදී. එහි ආරම්භක සාමාජිකාවන් රු. 500 000 ක් දායක වෙමින් යාවජීව සාමාජිකයින් ලෙස බැඳුනි. මෙම සංගමයේ පොත්වලින් පහත තොරතුරු උපුටා ගන්නා ලදී.

| විස්තරය | 2016.03.31 දිනට (රු.'000) | 2015.03.31 දිනට (රු.'000) |
|---|---|---|
| ලැබිය යුතු සාමාජික මුදල් | 20 | 15 |
| කලින් ලද සාමාජික මුදල් | 30 | 25 |
| සමුච්චිත අරමුදල | ? | 200 |
| යාවජීව සාමාජික අරමුදල | ? | 400 |
| ටී ෂර්ට් තොගය - පිරිවැයට | 40 | - |
| ශාලාව වෙන්කිරීමේ අත්තිකාරම | - | 25 |
| සංගීත ප්‍රසංගයෙන් ලැබිය යුතු ඇ | ? | - |
| මුදල් | ? | 50 |

**අතිරේක තොරතුරු:**

(i) එක් අයෙකුගේ වාර්ෂික සාමාජික මුදල රු. 500 කි. 2016.03.31 දිනට සාමාජිකයන් 600 දෙනෙකු (යාවජීව සාමාජිකයින් හැර) විය.

(ii) යාවජීව සාමාජික මුදල වසර 10 ක කාලයක් තුළ ආදායමෙහි හඳුනා ගැනේ.

(iii) සංගමයට අරමුදල් රැස් කිරීම සඳහා 2015.10.01 දින පවත්වන ලද සංගීත ප්‍රසංගයට පහත තොරතුරු අදාළ වේ:

| විස්තරය | මුදල් ලැබීම්/ගෙවීම් (රු.'000) |
|---|---|
| ප්‍රවේශ පත්‍ර විකුණුම්: | |
| එකක් රු. 1 000 බැගින් වන ප්‍රවේශ පත්‍ර 100 ක් | 100 |
| එකක් රු. 500 බැගින් වන ප්‍රවේශ පත්‍ර 400 ක් (80% ක් පමණක් ලැබුණි) | 160 |
| ප්‍රසංගය සඳහා අනුග්‍රාහක දායකත්වයන් (75% පමණක් එකතු කර ඇත) | 375 |
| සංගීතඥයින්ට ගෙවීම්: | |
| එක් අයෙකුට රු. 40 000 බැගින් ගායකයින් 5 දෙනෙකුට | 200 |
| සංගීත කණ්ඩායමට | 80 |
| ශාලා කුලිය | 50 |
| සංග්‍රහ වියදම් | 30 |

(iv) සංගමය විසින් එකක් රු. 200 බැගින් ටී ෂර්ට් 500 ක් අත්පිට මුදලට මිලට ගන්නා ලදී. මෙයින් 300 ක්, එකක් රු. 250 බැගින් සාමාජිකයින් අතරේ අත්පිට මුදලට විකුණන ලදී.

(v) පරිපාලන සහායකට රු. 30 000 ක මාසික වැටුපක් ගෙවනු ලැබේ.

**අවශ්‍යවන්නේ:**

(1) 2016.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා මුදල් ගිණුම

(2) 2016.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා පහත දෑ:
- (i) සාමාජික මුදල් ආදායම
- (ii) සංගීත ප්‍රසංගයේ අතිරික්තය/හිඟය
- (iii) ටී-ෂර්ට් විකිණීමෙන් ලද අතිරික්තය/හිඟය

(3) 2016.03.31 දිනට පහත අයිතමවල ශේෂයන්:
- (i) සමුච්චිත අරමුදල
- (ii) යාවජීව සාමාජික අරමුදල
- (iii) සංගීත ප්‍රසංගයෙන් ලැබිය යුතු දෑ

**(ලකුණු 10 යි)**

**(මුළු ලකුණු 15 යි)**

(ආ) (1) මුදල් ගිණුම (රු'000)

| | | | | | |
|---|---|---|---|---|---|
| ශේෂය ඉ/ගෙ | 50 | | ගායකයින්ට ගෙවීම් | 200 | |
| ප්‍රවේශ පත්‍ර විකිණීම | 260 | (01) | සංගීත කණ්ඩායමට ගෙවීම් | 80 | (02) |
| අනුග්‍රාහක දීමනා | 375 | (01) | ශාලා කුලිය | 50 | |
| සාමාජික මුදල් | 300 | (01) | සංග්‍රහ වියදම් | 30 | |
| ටී ෂර්ට් විකුණුම් | 75 | (01) | ටී ෂර්ට් විකුණුම් | 100 | (01) |
| | | | වැටුප් | 360 | (01) |
| | | | ශේෂය ප/ගෙ | 240 | |
| | 1 060 | | | 1 060 | |

**(ලකුණු 08)**

(ආ) (2) (රු'000)

(i) සාමාජික මුදල් ආදායම = රු. 350 (01)

| පෙරවැඩ | | | (රු'000) |
|---|---|---|---|
| සාමාජික මුදල් | = 600 × 500 | = | 300 |
| යාවජීව සාමාජික මුදල් | | = | 50 [01] |
| | | | 350 |

(ii) සංගීත ප්‍රසංගයේ අතිරික්තය = රු. 415 (04)

පෙරවැඩ (රු'000)

**සංගීත ප්‍රසංග ගිණුම**

| | | | | | |
|---|---|---|---|---|---|
| ගායකයින්ට ගෙවීම් | 200 | | ප්‍රවේශපත්‍ර විකුණුම් | 300 | 01 |
| සංගීත කණ්ඩායමට ගෙවීම් | 80 | 01 | අනුග්‍රාහක දීමනා | 500 | 01 |
| සංග්‍රහ වියදම් | 30 | | | | |
| ශාලා කුලිය | 75 | 01 | | | |
| අතිරික්තය | 415 | | | | |
| | 800 | | | 800 | |

(iii) ටී ෂර්ට් විකිණීමෙන් ලද අතිරික්තය = රු. 15 (02)

පෙරවැඩ (රු'000)

| | | | |
|---|---|---|---|
| ටී ෂර්ට් විකුණුම් 300 × 250 | = | 75 | 01 |
| ටී ෂර්ට් විකුණුම් පිරිවැය 300 × 200 | = | (60) | 01 |
| | | 15 | |

**(ලකුණු 07)**

(3) (i) 2016.03.21 දිනට සමුච්චිත අරමුදල 620 (02)

පෙරවැඩ (රු'000)

| | | | |
|---|---|---|---|
| 2015.04.01 සමුච්චිත අරමුදල | - | 200 | |
| අතිරික්තය | - | 420 | 02 |
| | | 620 | |

| | | |
|---|---|---|
| ආදායම් ප්‍රකාශනය | | |
| **ආදායම්** | | |
| සාමාජික මුදල් | 300 | |
| යාවජීව සාමාජික මුදල් | 50 | |
| සංගීත ප්‍රසංගයෙන් | 415 | ඕනෑම අයිතම 4කට ලකුණු 02 |
| ටී ෂර්ට් විකිණීමෙන් | 15 | |
| | 780 | |
| **වියදම්** | | |
| පරිපාලක සහයක වැටුප් | (360) | |
| අතිරික්තය | 420 | |

(රු’000)

(ii) යාවජීව සාමාජික අරමුදල 350 (01)

(රු’000)

(iii) සංගීත ප්‍රසංගයෙන් ලැබිය යුතු මුදල 165 (02)

| පෙරවැඩ | | (රු’000) | |
|---|---|---|---|
| ප්‍රවේශපත්‍ර වලින් ලැබිය යුතු මුදල | = | 40 | 01 |
| අනුග්‍රාහකයින්ගෙන් ලැබිය යුතු මුදල | = | 125 | 01 |
| | | 165 | |

**(ලකුණු 05)**

**6 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :**




ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණු ප්‍රමාණය 15 x 2 = ලකුණු 30කි.
6 ප්‍රශ්නය තෝරාගෙන ඇත්තේ අපේක්ෂකයින්ගෙන් 52%ක් පමණි.

ලකුණු 00 - 07 ප්‍රාන්තරයේ 48%ක් ද,
ලකුණු 08 - 15 ප්‍රාන්තරයේ 31%ක් ද,
ලකුණු 16 - 23 ප්‍රාන්තරයේ 14%ක් ද,
ලකුණු 24 - 30 ප්‍රාන්තරයේ 7%ක් ද,

ලකුණු ලබාගෙන ඇත. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 24 හෝ ඊට වඩා වැඩියෙන් ලකුණු ලබාගත් පිරිස 7%ක් පමණක් වන අතර, අපේක්ෂකයින්ගෙන් 48%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 07 හෝ ඊට වඩා අඩුවෙනි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 16ට වඩා වැඩියෙන් ලබාගෙන ඇති ප්‍රතිශතය 21%ක් පමණි. එම සැලකිය යුතු දුර්වලතාවයකි.




මෙම ප්‍රශ්නයට අයත් අනුකොටස් 02න් (අ) කොටසෙහි පහසුතාව 65%කි. (ආ) කොටසෙහි අනුකොටස් (3) කි. මෙම කොටස් සියල්ලෙහිම පහසුතාව 47%-13% අතර වේ.

(6) (අ) කොටසෙහි අනුකොටස් දෙකෙහිම පහසුතාව 65%කි. මෙයින් පිරික්සා ඇත්තේ වැටුප් ලේඛනය සහ වැටුප් පාලන ගිණුම සකස් කිරීම පිළිබඳ අවබෝධයයි. අපේක්ෂකයින් තුළ දළ වැටුප ගණනය කිරීම පිළිබඳ අවබෝධය දුර්වල මට්ටමක පැවතුණි.

(ආ) කොටසෙහි (1) පහසුතාවය 47%කි. මුදල් ගිණුම පිළියෙල කිරීමේදී දී ඇති අතිරේක තොරතුරු සැලකිල්ලට ගෙන නොතිබීම දක්නට ලැබිණි.

(ආ) (2) (1) කොටසෙහි පහසුතාවය 29%කි. ගිණුම්කාලච්ඡේදයට අදාළ යාවජීව සාමාජික මුදල, සාමාජික මුදල් ගිණුමට නිවැරදි ව ගලපා නොතිබීම දක්නට ලැබුණි.

(ආ) (2) (ii) පහසුතාවය 31%කි. ප්‍රවේශ පත්‍ර විකුණුම් ආදායම ගණනය කිරීමේදී උපචිත පදනම සැලකිල්ලට නොගැනීම හා අනුග්‍රාහක දායකත්වයන්ගෙන් ගිණුම්කාලච්ඡේදයට අදාළ ලෙස ගලපා නොතිබීම, ශාලා කුලී වෙන් කිරීමේ අත්තිකාරම හා ගෙවූ ශාලා කුලිය යන දෙකම කාලච්ඡේදයේ ශාලා කුලිය ලෙස හඳුනා ගෙන තිබුණේ නැත.

ආ (2) (iii) පහසුතාවය 42%කි. ටී ෂර්ට් විකුණුම් පිරිවැය නිවැරදි ව ගණනය කර නොතිබීම හා පිළිතුරු නොසපයා තිබීම.

(ආ) (3) (i) පහසුතාවය 13%කි. සමුච්චිත අරමුදල ගොඩනැගෙන ආකාරය පිළිබඳ අපේක්ෂකයින්ගේ අවබෝධය ඉතා අඩුය. නිවැරදි අතිරික්තය ගණනයේදී කාලච්ඡේදයට අදාළ නිවැරදි ආදායම් හා වියදම් ගණනය කර නොතිබීම. සමුච්චිත අරමුදල ගොඩනැගෙන ආකාරයට පිළිබඳ ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය විය යුතුය.

(ආ) (3) (ii) පහසුතාවය 28%කි. යාවජීව සාමාජිකත්වය ලබාගත් දිනය සැලකිල්ලට ගෙන නොතිබීම. ඒ අනුව ගිණුම්කාලච්ඡේදයට අදාළ යාවජීව සාමාජික මුදල හඳුනා නොගැනීම මෙයට හේතුවේ.

(ආ) (3) (iii) පහසුතාවය 31%කි. ප්‍රවේශ පත්‍රවලින් ලැබිය යුතු මුදල හා අනුග්‍රාහකයින්ගෙන් ලැබිය යුතු මුදල හඳුනා ගෙන නොතිබීම ඊට හේතු විය හැකිය.

මෙම සෑම අනුකොටසකටම පිළිතුරු සැපයීමේදී උපචිත පදනම පිළිබඳ අවබෝධය අඩුබවක් දක්නට ලැබුණි. එම නිසා උපචිත පදනමට ගිණුම් තැබීම පිළිබඳ අවබෝධය තහවුරු වන ලෙස ඉගෙනුම් ඉගැන්වීම සංවිධානය කළ යුතුව ඇත.

## 07 ප්‍රශ්නය

7. (අ) 2016.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා පහත තොරතුරු සීමිත උපුල් පොදු සමාගම හා බැඳේ.

| | |
|---|---|
| දළ ලාභ අනුපාතය | 20% |
| වත්කම් පිරිවැටුම් අනුපාතය | වාර 0.5 |
| තොග පිරිවැටුම් අනුපාතය | වාර 8 |
| දළ ලාභය | රු. 400 000 |
| මුළු වියදම් | රු. 160 000 |
| 2016.03.31 දිනට මුළු වගකීම් | රු. 1 600 000 |

**අවශ්‍යවන්නේ:**

(1) 2016.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා විකුණුම්
(2) 2015/16 වර්ෂය සඳහා සාමාන්‍ය තොගය
(3) 2016.03.31 දිනට මුළු වත්කම්
(4) හිමිකම මත ඉපැයුම් අනුපාතය
(5) හිමිකම් අනුපාතය

(ලකුණු 05 යි)

**පිළිතුර**
**ප්‍රශ්න අංක 07**

(අ) (1) විකුණුම් රු. 2 000 000 (02)

**පෙරවැඩ**

$$\frac{400\ 000\ \boxed{01}}{20\%\ \boxed{01}} = 2\ 000\ 000$$

(2) සාමාන්‍ය තොගය රු. 200 000 (02)

**පෙරවැඩ**

$$\frac{1\ 600\ 000\ \boxed{01}}{8\%\ \boxed{01}} = 200\ 000$$

(3) මුළු වත්කම් රු. 4 000 000 (02)

**පෙරවැඩ**

$$\frac{2\ 000\ 000\ \boxed{01}}{0.5\%\ \boxed{01}}$$

(4) හිමිකම් මත ඉපැයුම් අනුපාතය 10% (02)

**පෙරවැඩ**

$$\frac{240\ 000\ \boxed{01}}{2\ 400\ 000\ \boxed{01}} \times 100 = 10\%$$

(5) හිමිකම් අනුපාතය 60% (02)

**පෙරවැඩ**

$$\frac{2\ 400\ 000\ \boxed{01}}{4\ 000\ 000\ \boxed{01}} \times 100 = 60\%$$

(ආ) 2016.03.31 සහ 2015.03.31 දිනයන්ට සීමිත නායගම් පොදු සමාගමේ සාරාංශගත මූල්‍ය තත්ත්ව ප්‍රකාශන පහත දී ඇත.

| විස්තරය | 2016.03.31 දිනට (රු.'000) | 2015.03.31 දිනට (රු.'000) |
|---|---|---|
| දේපළ, පිරියත සහ උපකරණ-ප්‍රත්‍යාගණිත වටිනාකමට ............ | 312 | 240 |
| සමුච්චිත ක්ෂය - දේපළ, පිරියත සහ උපකරණ .................. | (72) | (40) |
| තොගය ............ | 184 | 104 |
| වෙළෙඳ ලැබිය යුතු දෑ ............ | 80 | 120 |
| අඩමාන ණය සඳහා වෙන් කිරීම්............ | (32) | (16) |
| මුදල් ............ | 192 | – |
| **මුළු වත්කම්** ............ | **664** | **408** |
| ප්‍රකාශිත සාමාන්‍ය කොටස් ප්‍රාග්ධනය............ | 280 | 40 |
| ප්‍රත්‍යාගණිත සංචිත ............ | 56 | 16 |
| රඳවාගත් ඉපැයුම් ............ | 32 | 96 |
| දිගුකාලීන ණය ............ | 120 | – |
| වෙළෙඳ ගෙවිය යුතු දෑ ............ | 136 | 144 |
| ගෙවිය යුතු වැටුප් ............ | 40 | 32 |
| බැංකු අයිරාව ............ | – | 80 |
| **මුළු වගකීම් සහ හිමිකම්** ............ | **664** | **408** |

**අතිරේක තොරතුරු:**

(i) 2016.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා සමාගමේ සාරාංශගත ආදායම් ප්‍රකාශනය පහත පරිදි වේ.

| විස්තරය | රු.'000 |
|---|---|
| විකුණුම් ............ | 120 |
| විකුණුම් පිරිවැය ............ | (80) |
| කොමිස් ආදායම (වර්ෂය අවසානයේ ලැබිය යුතු දෑ නොමැත.) ............ | 8 |
| ලී බඩු විකිණීම මත ලාභය (එහි ධාරණ වටිනාකම රු. 40 000 ක් විය.) ... | 16 |
| අඩමාණ ණය ............ | (16) |
| ක්ෂය ............ | (40) |
| වැටුප් ............ | (72) |
| වර්ෂයේ අලාභය ............ | (64) |

(ii) වර්ෂය තුළ දී දේපළ, පිරියත සහ උපකරණ ප්‍රත්‍යාගණනය කර ඇත. වර්ෂය තුළ දේපළ, පිරියත හා උපකරණ මිල දී ගැනීම් අත්පිට මුදලට සිදු කර ඇත.

(iii) වර්ෂය තුළ දී කොටස් නිකුතුවක් සිදු කර ඇති අතර 2016.03.31 දින වසර 3 ක කාලයක් සඳහා ණයක් ලබා ගෙන ඇත.

**අවශ්‍යවන්නේ:**

LKAS 7 (මුදල් ප්‍රවාහ ප්‍රකාශනය) ප්‍රමිතයට අනුව 2016.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා සීමිත නායගම් පොදු සමාගමේ මුදල් ප්‍රවාහ ප්‍රකාශනය

**(ලකුණු 10 යි)**

**(මුළු ලකුණු 15 යි)**

පිළිතුර

(3)

සීමිත නායගම් පොදු සමාගම

2016.03.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා මුදල් ප්‍රවාහ ප්‍රකාශනය (01)

| | | |
|---|---|---|
| **මෙහෙයුම් ක්‍රියාකාරකම් තුළින් මුදල් ප්‍රවාහ** | | |
| බදු පෙර ලාභය | (64) (01) | |
| ක්ෂය | 40 (01) | |
| ලී බඩු විකිණීම මත ලාභය | (16) (01) | |
| අඩමාන ණය | 16 (01) | |
| මෙහෙයුම් ක්‍රියාකාරකම්වල යෙදවූ මුදල් | (24) | |
| තොග වැඩිවීම | (80) (01) | |
| වෙළෙඳ ලැබිය යුතු දෑ අඩුවීම | 40 (01) | |
| වෙළෙඳ ගෙවිය යුතු දෑ අඩුවීම | (8) (01) | |
| ගෙවිය යුතු වැටුප් වැඩි වීම | 8 (01) | |
| මෙහෙයුම් ක්‍රියාකාරකම් තුළ යෙදවූ ශුද්ධ මුදල් (01) | | (64) |
| **ආයෝජන ක්‍රියාකාරකම් තුළින් මුදල් ප්‍රවාහ** | | |
| දේපළ, පිරියත සහ උපකරණ මිලට ගැනුම් | (80) (02) | |
| ලී බඩු විකිණීමෙන් ලද මුදල | 56 (02) | |
| ආයෝජන ක්‍රියාකාරකම්වල යෙදවූ ශුද්ධ මුදල් (01) | | (24) |
| **මූල්‍ය ක්‍රියාකාරකම් තුළින් මුදල් ප්‍රවාහ** | | |
| කොටස් නිකුත් කිරීම් | 240 (01) | |
| ණය ලබා ගැනීම | 120 (01) | |
| මූල්‍ය ක්‍රියාකාරකම් තුළින් ජනනය වූ ශුද්ධ මුදල් (01) | | 360 |
| මුදල් හා මුදල් සමාන දෑ වල ශුද්ධ වැඩි වීම | | 272 |
| 2015.04.01 දිනට මුදල් හා මුදල් සමාන දෑ | | (80) (01) |
| 2016.03.31 දිනට මුදල් හා මුදල් සමාන දෑ | | 192 (01) |

(ලකුණු 20)

**පෙරවැඩ** **දේපල, පිරියත සහ උපකරණ ගිණුම** **රු'000**

| | | | | |
|---|---|---|---|---|
| ශේෂය ඉ/ගෙ | 240 | ලී බඩු | 48 | 01 |
| මුදල් | 40 | 01 ශේෂය ප/ගෙ | 312 | |
| | 80 | | | |
| | 360 | | 360 | |

**ලී බඩු විකුණුම් ගිණුම**

| | | | | |
|---|---|---|---|---|
| ලී බඩු | 48 | 01 සමුච්චිත අගය | 8 | 01 |
| ලාභාලාභ | 16 | මුදල් | 56 | |
| | 64 | | 64 | |

**7 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :**




ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණු ප්‍රමාණය 15 x 2 = ලකුණු 30කි.
7 ප්‍රශ්නය තෝරාගෙන ඇත්තේ අයදුම්කරුවන්ගෙන් 66%ක් පමණි.
ඉන් ලකුණු 00 - 07 ප්‍රාන්තරයේ 28%ක් ද,
ලකුණු 08 - 15 ප්‍රාන්තරයේ 30%ක් ද,
ලකුණු 16 - 23 ප්‍රාන්තරයේ 24%ක් ද,
ලකුණු 24 - 30 ප්‍රාන්තරයේ 18%ක් ද,
ලකුණු ලබාගෙන ඇත. ඒ අනුව මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 24ක් හෝ ඊට වැඩියෙන් ලකුණු ලබාගත් පිරිස 18%ක් වන අතර, අයදුම්කරුවන්ගෙන් 28%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 07ක් හෝ ඊට අඩුවෙනි. මෙම ප්‍රශ්නයෙහි ලකුණු 16ට වඩා ලබාගත් ප්‍රතිශතය 42%කි.




මෙම ප්‍රශ්නයෙහි අනුකොටස් 6ක් අතුරින් කොටස් 4ක පහසුතාවය 55%ට වැඩිය.

(7) (අ) (1) කොටසේ පහසුතාව 80%කි. මූලික ගණිත සංකල්ප පිළිබඳ අවබෝධය නොතිබීම නිසා 20% පමණ අපේක්ෂකයින් පිළිතුරු සපයා නැති බව පෙනේ.

(7) (අ) (2) කොටසේ පහසුතාවය 66%කි. විකුණුම් පිරිවැය ගණනය කිරීමේ අපහසුව නිසා සාමාන්‍ය තොගය ගණනය කළ නොහැකිවීම ආදිය ඊට හේතු විය හැකිය.

(7) (අ) (3) කොටසේ පහසුතාවය 57%කි. පිරිවැටුම ගණනය කිරීමේ අපහසුව නිසා මුළු වත්කම් ගණනය කිරීම අපහසුවීම විය හැකිය.

(7) (අ) (4) කොටසේ පහසුතාවය 45%කි. මුළු වත්කම් - වගකීම් = හිමිකම් බව හඳුනා නොගැනීම හා දළ ලාභයෙන් මුළු වියදම අඩුකර ශුද්ධ ලාභය හෙවත් ඉපයුම ලබන බව අවබෝධ කරගෙන නොතිබුණ බව පෙනේ.

(7) (අ) (5) කොටසේ පහසුතාවය 26%කි. හිමිකම ගණනය කිරීම හා මුළු ප්‍රාග්ධනය ගණනය කිරීම පිළිබඳ අවබෝධය නොමැතිවීම මීට හේතු විය.

අනුපාත ගණනය කිරීමේදී සූත්‍ර පිළිබඳ අවබෝධය ලැබෙන ආකාරයට විවිධ වූ අභ්‍යාස කරවීම යෝග්‍ය වේ.

(7) (ආ) කොටසේ පහසුතාවය 55%කි. මුදල් ප්‍රවාහ ප්‍රකාශන පිළියෙල කිරීමේදී අඩමාණ ණය උෟන වෙන් කිරීම මුදල් ප්‍රවාහයට බල නොපාන අයිතමයක් බව හඳුනා ගෙන නොතිබුණි.

බදු පෙර අලාභයක් පෙන්වීම නිසා, ඒ අනුව මුදල් ප්‍රවාහ පිළියෙල කිරීමට අපේක්ෂකයින් හුරු නොවීම.

මුදල් පොතට හර බැර වූ එහෙත් ලාභාලාභ ගිණුමට හර බැර නොවූ අයිතම නැවත ගැලපීම් කළ යුතු බව ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය තුළ දී අවබෝධ කළ යුතුවේ.

මෙහෙයුම්, ආයෝජන, මූල්‍ය ක්‍රියාකාරකම්වල ශුද්ධ මුදල් ප්‍රවාහයට අදාළ ව අගයක් දැක්වීම කළ යුතු බව අවබෝධ කළ යුතුවේ.

### 2.2.3 II ප්‍රශ්න පත්‍රයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




II ප්‍රශ්න පත්‍රයේ 6 වන ප්‍රශ්නය හැර අනෙකුත් ප්‍රශ්නවල පහසුතාවය 55% හෝ ඊට වැඩිය.

II ප්‍රශ්න පත්‍රයේ ප්‍රශ්න අතරින් 72%ක වැඩිම පහසුතාවක් 5 වන ප්‍රශ්නයට දක්වා ඇති අතර 48%ක අඩුම පහසුතාවක් දක්වා ඇත්තේ 6 වන ප්‍රශ්නයටය.

පළමුවන හා දෙවන ප්‍රශ්න අනිවාර්ය වේ. මෙම ප්‍රශ්න දෙක අතුරින් වැඩිම පහසුතාවක් දක්වා ඇත්තේ 2 වන ප්‍රශ්නයට වන අතර එහි පහසුතාව 69%කි.

3 වන ප්‍රශ්නයේ සිට 7 වන ප්‍රශ්නය තෙක් ලබාදී ඇත්තේ, තෝරා ගන්නා ප්‍රශ්න වන අතර ඉන් වැඩිම පහසුතාවක් දක්වා ඇත්තේ 5 වන ප්‍රශ්නයට වේ. එහි පහසුතාව 72%කි. ප්‍රශ්න තෝරා ගැනීමේදී වැඩිම පිරිසක් තෝරාගෙන ඇත්තේ 3 වන ප්‍රශ්නය වේ. මෙහි ප්‍රතිශතය 93%ක් වේ. දෙවන ප්‍රශ්න පත්‍රයේ තෝරා ගන්නා ප්‍රශ්නවලින් අඩුම තෝරාගැනීමක් දක්වා ඇත්තේ 6 වන ප්‍රශ්නය වන අතර එය 52%කි.
තෝරා ගන්නා ප්‍රශ්න අතරින් දෙවනුව වැඩිම පිරිසක් තෝරා ගෙන ඇත්තේ 5 වන ප්‍රශ්නය වන අතර එහි තෝරා ගැනීම 79%කි.

## III කොටස

3.0 පිළිතුරු සැපයීමේ දී සැලකිලිමත් විය යුතු කරුණු හා යෝජනා :

3.1. පිළිතුරු සැපයීමේ දී සැලකිලිමත් විය යුතු කරුණු :

**පොදු උපදෙස් :**

* ප්‍රශ්න පත්‍රයේ දී ඇති උපදෙස් කියවා හොඳින් තේරුම් ගත යුතුය. එනම් කුමන ප්‍රශ්න සංඛ්‍යාවකට පිළිතුරු සැපයිය යුතුද? කුමන ප්‍රශ්න අනිවාර්ය වේද, ඒ සඳහා වෙන් කොට ඇති කාලයන් කොපමණ ද? වෙන් කොට ඇති ලකුණු ප්‍රමාණයන් කොපමණද යනාදියයි.
* ප්‍රශ්න හොඳින් කියවා අවබෝධ කරගෙන තෝරා ගත යුතු අතර, ප්‍රශ්න තෝරා ගැනීමේදී හා පිළිතුරු ලිවීමේදී එය ප්‍රයෝජනයට ගත යුතුය.
* නිවැරදි හා පැහැදිලි අත් අකුරුවලින් ලිවිය යුතුය.
* අයදුම්කරුගේ විභාග අංකය අදාළ සෑම පිටුවකම අදාළ ස්ථානයේ ලිවිය යුතුය.
* I පත්‍රයේ 1-30 දක්වා ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමේදී වඩාත් ආසන්න පිළිතුරු අතුරින් වඩාත්ම නිවැරදි පිළිතුර තෝරා ගත යුතුය.
* I පත්‍රයේ 31-50 දක්වා ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමේදී දීර්ඝ විස්තර ඇතුළත් කිරීම නොකළ යුතුය.
* II වන පත්‍රයේ ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමේදී සෑම ප්‍රධාන ප්‍රශ්නයක්ම අළුත් පිටුවකින් ආරම්භ කළ යුතුය.
* උත්තර පත්‍රයට පිටු අමුණන්නේ නම් නිවැරදිව අංක කර නොගැලවෙන පරිදි ඇමිණිය යුතුය.
* ප්‍රශ්න අංක හා අනුකොටස් අංක නිවැරදි ව ලිවිය යුතුය.
* ප්‍රශ්නයෙහි අසා ඇති ආකාරය අනුව තර්කානුකූලව හා විශ්ලේෂණාත්මකව කරුණු ඉදිරිපත් කළ යුතුය.
* එක් එක් අනු කොටස් හොඳින් කියවා බලා එක් එක් අනු කොටසට අදාළ ඉලක්කගත පිළිතුර පමණක් ලිවිය යුතුය.
* පිළිතුරු සැපයීමේදී කාලය නිසි පරිදි කළමනාකරණය කරගත යුතුය. මෙහිදී ප්‍රශ්නයට අදාළ ලකුණු ප්‍රමාණය සමග කාලය කළමනාකරණය කරගත හැකිය.
* පිළිතුරු ලිවීමේදී රතු, දම් සහ කොළ පාට පෑන් භාවිත කිරීමෙන් වැළකිය යුතුය.

**විශේෂ උපදෙස් :**

1. ප්‍රශ්නවලට අදාළ පිළිතුර පියවරෙන් පියවර ඉදිරිපත් කළ යුතුය.
2. සංඛ්‍යා රුපියල් දහස්වලින් ඉදිරිපත් කරන්නේ නම් එය සඳහන් කළ යුතුය. (එනම් රු'000 ලෙස)
3. එක් එක් ප්‍රශ්නයට අදාළ පෙර වැඩ ඒ ඒ පිළිතුර සමග ඉදිරිපත් කළ යුතුය.
4. ප්‍රශ්නයක අනුකොටස් ඇති විටෙක එම අනුකොටස් සියල්ල එක ලඟ තිබෙන ලෙස පිළිතුරු ඉදිරිපත් කළයුතු අතර උත්තර පත්‍රයෙහි තැනින් තැන විසුරුවා ලිවීම නොකළ යුතුය.
5. ඉලක්කම් සහ ධන ඍණ ලකුණු ද, සත්‍ය අසත්‍ය බවද අදාළ වේ, අදාළ නොවේ ආදිය ද පැහැදිලි ව ලිවිය යුතුය.
6. තමා ලද අගය භාවිත කරමින් සම්පූර්ණ පිළිතුර සැපයිය යුතුය. එනම් ලද එක් පිළිතුරක් වැරදි යැයි උපකල්පනය කොට ඉතිරි කොටස්වලට පිළිතුරු නොලියා සිටීමෙන් වැළකිය යුතුය.
7. සමාගම් මූල්‍ය ප්‍රකාශන පිළියෙල කිරීමේදී ගිණුම්කරණ සටහන් හා පෙරවැඩ අතර වෙනස වටහා ගෙන පිළිතුරු සැපයීමට වගබලා ගත යුතුය.
8. ආදායම් හා වියදම් උපචිත පදනමට ගලපා ගැනීමට අපොහොසත් වීම බොහෝ පිළිතුරුවල පොදුවේ දක්නට ලැබෙන දුර්වලතාවයක් බැවින් ඒ පිළිබඳ ව වැඩි අවධානයක් යොමු කළ යුතුය.
9. මූලික ගණිත සංකල්ප පිළිබඳ අවබෝධය මඳවීම ද නිවැරදි පිළිතුරු ලබාගැනීමට බාධාවක් බැවින් එය වර්ධනය කර ගැනීමට කටයුතු කළ යුතුය.

## 3.2. ඉගෙනුම් හා ඉගැන්වීම් ක්‍රියාවලිය පිළිබඳ අදහස් හා යෝජනා :

* විෂය නිර්දේශය, ගුරු මාර්ගෝපදේශ සංග්‍රහය, 1995 අංක 15 දරන ගිණුම්කරණ හා විගණන ප්‍රමිත පනත, 2007 අංක 07 දරන සමාගම් පනත, උසස් පෙළට නිර්දේශිත ගිණුම්කරණ ප්‍රමිත සහ අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව පළකර ඇති උ.පෙළ ගිණුම්කරණය සම්බන්ධ පොත් යනාදිය සියළුම සිසුන් මෙන්ම ගුරුභවතුන් ද පරිශීලනය කළයුතු අතර ඒ පිළිබඳ ව දැනුවත් වීම හා භාවිතය ද අත්‍යාවශ්‍යය.

* ගිණුම්කරණ ප්‍රශ්න පත්‍රයට සාර්ථකව පිළිතුරු ලිවීමට නම් ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලියේදී ප්‍රායෝගික ගැටළු මුල් කරගෙන සකස් කළ අභ්‍යාස ශිෂ්‍යයා ලවා කරවීම අවශ්‍යය.

* මුද්‍රණය කරන ලද අභ්‍යාස ලබාදීමට හැකියාවක් ඇත්නම් වැඩි අභ්‍යාස ප්‍රමාණයක් විසඳීමට සිසුන්ට අවස්ථාව ලැබෙනු ඇත.

* සාක්ෂරතාවයේ අඩුපාඩු හේතුවෙන් ප්‍රශ්න අවබෝධ කරගැනීමේ සහ ප්‍රකාශනය කිරීමේ ගැටළු අවම කර ගැනීම සඳහා සුදුසු වැඩ සටහන් ක්‍රියාත්මක කළ යුතුය.

* ව්‍යාපාර ලෝකයේ ප්‍රායෝගිකව භාවිත කරන මූලාශ්‍ර ලියවිලි හා ගිණුම් වාර්තා පන්ති කාමර ආධාරක ලෙස භාවිත කරමින් විෂයය සංවර්ධනයට අවශ්‍ය අත්දැකීම් තහවුරු කර ගැනීමට මග පෙන්වීම අවශ්‍යය.

  නිදසුන් - මූලාශ්‍ර ලියවිලි
  - බැංකු ප්‍රකාශන
  - වැටුප් ලේඛන
  - තොග වාර්තා
  - සමාගම් වාර්ෂික වාර්තා

* මෙම විෂය ඉගෙන ගන්නාට මෙන්ම සමාජයටද එකසේ වැදගත් වන බැවින් අවබෝධයෙන් යුතුව, තර්කානුකූලව, මනසට රසවත් වන ආකාරයට ඉගෙන ගත යුතු අතර එක් එක් ඒකකය ඉගෙන ගත යුත්තේ මන්ද යන්න දරුවාගේ මනසට අවධාරණය වන පරිදි ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය විය යුතුය.

* මෙම විෂය තීරණ ගැනීම සඳහා වැදගත් වන සමාජයීය විෂයයක් බැවින් ඉගෙනුම් උපකරණ හා මෙවලම් භාවිතය මගින් ප්‍රබෝධක ඉගෙනුම් පරිසරයක් ගොඩනැගීමට හා කුසලතා වර්ධනය කරගැනීමට අවස්ථාව ලබාදිය යුතුය.

* විෂය නිර්දේශයේ අවසාන විෂයය කොටස් පදනම් කරගෙන ඇතුළත් කර ඇති ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමේ ප්‍රවණතාවයේ අඩුවීමක් මෙන් ම එම කොටස් සඳහා ලකුණු ලබා ගැනීමේ ප්‍රවණතාවේ අඩුවීමක් ද නිරීක්ෂණය වේ. ඒ අනුව ඉගෙනුම්-ඉගැන්වීම් ක්‍රියාවලියේදී එම විෂය කොටස් ආවරණය කිරීම කෙරෙහි වැඩි අවධානයක් යොමු කිරීම වැදගත් වනු ඇත.

* නව විෂය දැනුම සංවර්ධනය කර ගැනීම හා යාවත්කාලීන වීමට විශේෂයෙන් ගුරු භවතුන් සැලකිලිමත් විය යුතු අතර, ශිෂ්‍යයින්ට ද එම කරුණ වැදගත් වේ. මෙමගින් කුසලතා පූර්ණ නිර්මාණශීලි පුද්ගලයන් බිහිවන අතර ඔවුන් මතු පරපුරට මහගු දායාදයකි.